# ඉස්ලාම් ධර්මය

## 6 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා  ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති  අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ  අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ  අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

**ආනන්ද සමරකෝන්**

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

## නියාමනය හා අධීක්ෂණය

පී. එන්. අයිලප්පෙරුම - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## මෙහෙයවීම

ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## සම්බන්ධීකරණය

එම්.ටී. අබ්දුර් රහ්මාන් - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

අයි.ඒ.එම්.අෆ්සාන් - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## ලේඛක මණ්ඩලය

මෞලවි යු.එල් අමීර් - කථිකාචාර්ය, ආරබි, ඉස්ලාම් ශිෂ්ටාචාර
දෙපාර්තමේන්තුව, කොළඹ විශ්වවිද්‍යාලය

මෞලවි එම්.එල්.එම් යූසුෆ් - විදුහල්පති,
ටි.බි. ජායා සාහිරා විද්‍යාලය, කොළඹ - 02

එම්.ආර්.එම් මිහ්ලාර් - ජ්‍යෙෂ්ඨ උපගුරු, කුමාරිමුල්ල මු.ම.වි, පූගොඩ

මෞලවි කේ.බී. නසාර්දීන් - නියෝජ්‍ය විදුහල්පති,
නාච්චාදූව මු.ම.වි. නාච්චාදූව (අනුරාධපුර)

මෞලවි එස්.එස් රමලාන් - ජ්‍යෙෂ්ඨ උපගුරු, එරුක්කලම්පිට්ටි මු.ම.වි
නාගවිල්ලු, පාලාවි

එම්.ටී.එම් මුතහ්හර් - නියෝජ්‍ය විදුහල්පති,
අරෆා මධ්‍ය මහා විද්‍යාලය, වැලිගම

මෞලවියා ඒ.ආර්. බෂීරා - උපගුරු, අල් මදීනා ජාතික පාසල
සියඹලාගස්කොටුව

එම්.එෆ්.එම් නල්රි - විදුහල්පති, අල් හම්රා ම.වි., දර්ගානගරය

එස්.ඒ.සී.එම් කරාමත් - විශ්‍රාමික විදුහල්පති,
එඩ්මන්ටන් නිවාස ක්‍රමය, කොළඹ - 06

## සංස්කාරක මණ්ඩලය

ඒ.සී. අගාර් මුහම්මද් - නියෝජ්‍ය අධ්‍යක්ෂ, ජාමියා නලීමියා, බේරුවල

එම්.එම්.එම් සාබිර් - ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, අරාබි, ඉස්ලාම් ශිෂ්ටාචාර දෙපාර්තමේන්තුව, කොළඹ විශ්වවිද්‍යාලය

එම්.ආර්.එම්. ඉර්ෂාන් - සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ, අධ්‍යාපන අමාත්‍යාංශය, ඉසුරුපාය, බත්තරමුල්ල

ජේ.එම්. ජසාර් - කථිකාචාර්ය, (ව්‍යාපෘති නිලධාරි), ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම

එම්.ටී. අබ්දුර් රහ්මාන් - සහකාර කොමසාරිස්, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

අයි.ඒ.එම්. අෆ්සාන් - සහකාර කොමසාරිස්, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## භාෂා සංස්කාරක

කේ.එල් කමලාවතී - විශ්‍රාමලත් සිංහල ගුරු, 213, ඉහළ තල්දූව අවිස්සාවේල්ල

## අවසාන ඇගයීම

මෞලවි එම්.එන්.එම්. ඉජ්ලාන් (කාසිමි) - ප්‍රධාන කතීබ්, කොළඹ මහ පල්ලිය

ඒ.ටී.එම් නිජාම් - ගුරු උපදේශක, කලාප අධ්‍යාපන කාර්යාලය, පුත්තලම

## සෝදුපත් කියවීම

එම්.එස්.එම් රසූල්ඩීන් - ගුරු උපදේශක, කලාප අධ්‍යාපන කාර්යාලය, ගම්පහ

## පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැලසුම්කරණය

එස්.ඒ.සී.එම්. කරාමත් - විශ්‍රාමික විදුහල්පති, කොළඹ - 06

එල්. ඒ. සඳුනි නිලංකා පත්මසිරි - පරිගණක අංශය, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

එච්.එෆ්. රිස්නා - පරිගණක අංශය, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## පිටු සැකසුම රූප හා පිටකවරය

එම්.ඩබ්ලිව්.ඒ අසාර් - මීල්පාර්වයි මාධ්‍ය මධ්‍යස්ථානය, ශ්‍රී මහින්දධර්ම මාවත, කොළඹ - 09

# පටුන

පිටු අංකය

මෙම පාඩම් පෙළ පොතෙහි සමහර නම් ඉදිරියෙන් වරහන් තුළ කෙටි යෙදුම් යොදා ඇත. ඒවායේ සම්පූර්ණ යෙදුම පහත දී ඇත. ඒවා සම්පූර්ණයෙන්ම උච්ඡාරණය කොට කියවීම ඉස්ලාමීය ක්‍රමය වේ. එලෙස උච්ඡාරණය කොට කියවීමෙන් පූර්ණ ප්‍රතිඵල ලබා ගන්න

කෙටි යෙදුම්:

(සල්) = සල්ලල්ලාහු අලෛහි වසල්ලම්

(අලෛ) = **පුරුෂයකු නම්**

- අලෛහිස් සලාම්

**කාන්තාවක් නම්**

- අලෛහස් සලාම්

**දෙදෙනෙකු නම්**

- අලෛහිමස් සලාම්

**දෙදෙනෙකුට වැඩි නම්**

- අලෛහිමුස් සලාම්

(රළි) = **පුරුෂයෙකු නම්**

- රළියල්ලාහු අන්හු

**කන්තාවක නම්**

- රළිල්ලාහු අන්හා

**දෙදෙනෙකු නම්**

- රළියල්ලාහු අන්හුමා

**දෙදෙනෙකුට වැඩි නම්**

- රළියල්ලාහු අන්හුම්

(රහ්) = රහ්මතුල්ලාහි අලෛහි හෝ රහිමහුල්ලාහ්

# 1

# ඊමාන් පිළිබඳ හැඳින්වීම

ආමන්තු බිල්ලාහ් ! මම අල්ලාහ් විශ්වාස කරමි.

මා මවනු ලැබුවේ අල්ලාහ් විසිනි. මිනිසා ගැහැනු හා පිරිමි වශයෙන් ඔහු මැව්වේ ය. විවිධ පාටවලින් හා විවිධ හැඩරුවෙන් යුක්තව මැව්වේ ය. විවිධ ජාතින් ඇති කළේ ය. විවිධ භාෂා කතා කරන්නන් ද බිහි කළේ ය. ඥාති සම්බන්ධතා ඇති කළේ ය. නෑදෑ හිතවතුන් දයා සෙනෙහසින් බැඳ තැබුවේ ය. අන් සියලු මැවීම්වලට වඩා උසස් තරාතිරමක් මිනිසාට ලබා දුන්නේ ය.

අප ජීවත්වන භූතලය මැව්වේ ඔහු ය. ඉර, හඳ, තාරකා සහිතව වහලක ආකාරයෙන් අහස මැව්වේ ය. කණු මෙන් උස කඳු පොළොව මත සිටවූයේ ය. වලාකුළු පුළුන් මෙන් පාවී යන්නට සැලසුවේ ය. ගංගා ඇළ දොළ හා උල්පත් ආදිය පොළොව මත ගලා යෑමට සැලැස්වූයේ ය. මිනිසා ජීවත් වීමට සුදුසු පරිදි භූතලය සකස් කළේ ය. ආමන්තු බිල්ලාහ්! මම අල්ලාහ් විශ්වාස කළෙමි.



ඔහු පොළොවේ ජීවීන්ගේ පැවැත්ම සඳහා වායුගෝලය මැව්වේ ය. මිනිසාට ශ්වසනය කිරීම සඳහා ඔක්සිජන් වායුව ද ශාක ප්‍රභාසංස්ලේෂණය සඳහා කාබන්ඩයොක්සයිඩ් වායුව ද මැව්වේ ය. මිනිසා පිටකරන කාබන්ඩයොක්සයිඩ් වායුව ශාක ප්‍රභාසංස්ලේෂණය සඳහා භාවිත කරන අතර එම ශාඛ මිනිසාගේ ශ්වසනය සඳහා අවශ්‍ය ඔක්සිජන් පිට කරන්නේ ය. මෙමගින් මිනිසා සහ ජීවීන් අතර සම්බන්ධයක් ඇති කළේ ය. මෙම ක්‍රමවත් චක්‍රය ඇති කළේ අල්ලාහ් ය. ආමන්තු බිල්ලාහ්! මම අල්ලාහ් විශ්වාස කළෙමි.

උදෑසන ඉර පායයි. ලොව අවදි වන්නේ ය. එවිට ජනයා තම දිනචර්යාවල නිරත වීමට පටන් ගන්නෝ ය. ඉපැයීම් ඇතුළු විවිධ කටයුතුවල යෙදෙන්නෝ ය. සවස ඉර බැස යන විටම ලොව අන්ධකාර වේ. වෙහෙස වූ ජනයා රාත්‍රියේ නිදාගන්නෝ ය. වෙහෙස නිවී නින්ද පහවී නැවත උදෑසන අවදි වෙති. සැමද අඛණ්ඩ ලෙස පවතින මෙම ක්‍රියා පටිපාටිය සකසන ලද්දේ අල්ලාහ් විසිනි. ආමන්තු බිල්ලාහ් ! මම අල්ලාහ් විශ්වාස කළෙමි.

අහසින් වැසි වසින්නේ ය. වියළී ගිය පොළොව තෙමෙන්නේ ය. තණකොළ වැඩෙන්නේ ය. වැල් විහිදෙන්නේ ය. පැළැටි දලුලන්නේ ය. ගස් වැඩෙන්නේ ය. ආමන්තු බිල්ලාහ්! මම අල්ලාහ් විශ්වාස කළෙමි.

මේ සියල්ල ම සිදුවන්නේ එකම ජලයෙහි. එහෙත් තණකොළ වැඩී කොළ පැහැයෙන් දිස් වන්නේ ය. මල් පිපී විවිධ වර්ණයෙන් දිලෙන්නේ ය. හරිත වර්ණයෙන් යුත් තණ බිම්වල ගවයින් තණ බුදින අයුරු බලන්න. සමනල්ලු මල්වලින් මල්පැණි උරා බොති. පක්ෂීහු පළතුරු කමින්, නාදකරමින් සතුටු





වෙති. මිනිසා ද අනුමත ශාක හා සතුන් පිස අනුභව කරන්නේ ය. මෙතරම් වූ පුදුම සහගත ක්‍රියා දමයක් ඇති කළේ අල්ලාහ්ය. ආමන්තු බිල්ලාහ්! මම අල්ලාහ් විශ්වාස කළෙමි.

මිනිස් සිරුර තුළ ද අල්ලාහ්ගේ විශ්මයජනක සංවිධානය දැකිය හැකි ය. ශ්වසන පද්ධතිය, ස්නායු පද්ධතිය, ජීරණ පද්ධතිය, රුධිර පද්ධතිය යන සියල්ල ක්‍රියාත්මක වන්නේ ක්‍රමානුකූලව ය. බැලීමට ඇස්, අසන්නට කන්, රසවිඳීමට හා කතා කිරීමට දිව යන සියල්ලෙහි ම අල්ලාහ්ගේ ආශ්චර්යවත් මැවීම් දැකිය හැකි ය. ආමන්තු බිල්ලාහ්! මම අල්ලාහ් විශ්වාස කළෙමි.

මෙසේ සියලු මැවීම්වල ම අල්ලාහ්ගේ පුදුම සහගත ක්‍රියාදමයක් දැකිය හැකි ය. මේවා අහම්බෙන් හෝ ක්ෂණිකව හෝ බිහිවූ ඒවා නොවේ. දැනුම හා හැකියාව ඇති අල්ලාහ් විසින් මේවා මවා ක්‍රියාත්මක කරවන්නේ යැයි මම විශ්වාස කරමි. ඔහු පහළ කළ දේව ග්‍රන්ථ විශ්වාස කරමි. අල්ලාහ් විශ්වාස කරන මුස්ලිම් වන මම ඔහුගේ මලාඉකාවරුන් ද විශ්වාස කරමි. ඔහු පහළ කළ වක්තෘවරුන් ද විශ්වාස කරමි. අවසන් දිනයක් ඇති බව විශ්වාස කරමි. සියල්ල සිදුවන්නේ ඔහුගේ සැලැස්ම අනුව (කද්ර්) යැයි විශ්වාස කරමි. ආමන්තු බිල්ලාහ් ! මම අල්ලාහ් විශ්වාස කළෙමි.

**සුදුසු වචන යොදා හිස්තැන් පුරවන්න.**

1. සියල්ල මැව්වේ ...............................
2. ඔහු මිනිසුන් ........................... වශයෙන් මැව්වේ ය.
3. වැසි ජලය පහළ කොට විවිධ.................... යුත් පලතුරු ඇති කළේය.
4. ....................පොළොව මත කණු මෙන් සිටවන ලදී.
5. ....................ඔක්සිජන් සහ කාබන්ඩයොක්සයිඩ් යන වායූන් මිශ්‍රව ඇත.

**කෙටි පිළිතුරු සපයන්න.**

1. ආමන්තුබිල්ලාහ් යන්නෙහි අර්ථය කුමක් ද?
2. ශාක වර්ධනය කරවීම සඳහා අල්ලාහ් ලබා දෙන්නේ කුමක් ද?
3. මිනිසා රාත්‍රියේ දී වෙහෙස නිවා ගැනීම සඳහා අල්ලාහ් කුමක් ලබාදී තිබේ ද?
4. අල්ලාහ්ගේ මැවීම් හතරක් සඳහන් කරන්න.
5. ඔබ භුක්ති  විඳින අල්ලාහ්ගේ දායාදයන් පහක් සඳහන් කරන්න.

# 2

# තවහීද් රිසාලත් සහ මආද්

ගුරුවරිය :

අස්සලාමු අලෛකුම් වරහ්මතුල්ලාහි වබරකාතුහූ

ශිෂ්‍යාවෝ :

වඅලෛකුමුස්සලාම් වරහ්මතුල්ලාහි වබරකාතුහූ

ගුරුවරිය:

දරුවනි! අපි සියලු දෙනාම මුඃමින්වරු නේ ද? මුඃමින් කියන්නේ කාටද කියලා කියන්න පුළුවන් ඔයගොල්ලන්ගෙන් කොයි කෙනාට ද?



අර්වා :

ටීචර් මම දන්නවා. අපේ උම්මා මට කියා දීලා තියෙනවා. මම කියන්න ද?

ගුරුවරිය :

හොඳයි ටිකක් හයියෙන් කතා කරන්න අර්වා.

අර්වා :

ආමන්තුබිල්ලාහ්වල අඩංගු කරුණු විශ්වාස කරන අය මුඃමින් වෙනවා.

ගුරුවරිය :

අර්වා ඔබ හරි. බාරකල්ලාහු ලකි (අල්ලාහ් ඔබට බරකත් කරත්වා).



ළමයිනි! අර්වා කිව්වා වගේ ආමන්තුබිල්ලාහ් යන්නෙහි අඩංගු කරුණු හය සැකයෙන් තොරව විශ්වාස කරන්නා මුඃමින් වෙනවා. අද පාඩමේ දී අපි මෙම කරුණු හය ඇතුළත් මූලිකාංග තුනක් කෙටියෙන් සළකා බලමු.

අමානා : ටීචර්, ඊමානයේ කරුණු හයෙන් කරුණු තුනක් ගැන අද විස්තරාත්මකව කියා දෙනවා එහෙම නේද?

ගුරුවරිය : නෑ දුවේ! එම කරුණු හය මෙම කරුණු තුනෙහි ඇතුළත් වෙනවා. ඒවා තව්හීද්, රිසාලත් සහ මආද් ය.

සයිනබ්ඃ එම පද වල තේරුම් මොනවා ද?

ගුරුවරියඃ තව්හීද් කියන්නේ ඒකත්වය, රිසාලත් කියන්නේ දූතභාවයට, මආද් කියන්නේ නැවත නැගිටුවන කියාමා දිනයට ය.

ෂයිමා : මේවායේ තේරුම තවත් විස්තර කරල කියල දෙන්න ගුරුතුමියනි

ගුරුතුමියඃ හොඳයි ෂයිමා අල්ලාහ් අපව මැව්වේ ය. ඔහු ඒකයාය. නැමදුමට හා උදව් පැතීමට සුදුස්සා ඔහු පමණි. ඔහු අසමසමය. ඔහුට සහායකයකු ද නොවේ. ඔහු කිසිදු අවශ්‍යතාවක් ඇත්තකු නොවේ. කිසිවක් හලාල් හෝ හරාම් බවට පත්කිරීම ඔහු සතු අයිතිය වන්නේ ය. කුසල් අකුසල් යන සියල්ල ලැබෙන්නේ ඔහුගෙන් ය. මෙලෙස විශ්වාස කිරීම තව්හීදය (ඒකත්වය) වන්නේ ය.

අර්වා :

තව්හීදයට විරුද්ධ පදය ෂිර්ක් කියල උම්මා අපට කියා දීල තියෙනවා. ඒකේ තේරුම සම කිරීම නේද ටීචර් ?

ගුරුතුමිය :

ඔව් ඒක හරි. ඒ නිසා තමයි, අල්ලාහ්ට තව දෙයක් සම කරන්නන්ට මුෂ්රික්වරු කියල හඳුන්වනු ලබන්නෙ. හොඳයි, අපි රිසාලත් හෙවත් දූත මෙහෙවර ගැන බලමු. මිනිසුන් මැවූ අල්ලාහ් ඔහු මෙලොව ජීවත් විය යුතු ආකාරය ගැනත් මග පෙන්වූයේ ය. අල්ලාහ්ගේ එම මගපෙන්වීම ආගම් නම් වේ. මෙම ආගම් දේශනා කිරීම සඳහා අල්ලාහ් මිනිසුන් අතරින් යහපත් අය සහ සුදුසු අය තෝරා ගත්තේ ය. අපි "නබිවරු" යැයි හඳුන්වන්නේ ඔවුන් ය. ඔවුනතර සිටි විශේෂිත නබිවරු "රසූල්වරු" යැයි හඳුන්වනු ලබති.

දරුවනි! මලාඉකවරුන් අතරින් වැදගත්ම මලාඉකවරයා වන්නේ ජිබ්රීල් අලෛහිස්සලාම් තුමාය. අල්ලාහ් ආගම් සහ සුහුෆ් පහළ කළේ මෙතුමා හරහා ය. අපි "රිසාලත්" "දූත මෙහෙවර" යැයි හඳුන්වන්නේ මෙයයි.

අර්වා :

ගුරුතුමියනි, ජිබ්රීල් අලයිහිස්සලාම් තුමා නබිවරුන්ට වහී ගෙනෙන බව උම්මා කිව්වා. ඒකට නේ ද ඔබතුමිය රිසාලත් කිව්වේ ?

ගුරුතුමිය :

"මාෂා අල්ලාහ් " අර්වා ඔබ කිව්වා හරි. ඔබගේ උම්මා ඔබට හුඟාක් ආගමික කරුණු කියා දීලා තිබෙන බව පේනවා. දරුවනි, ඔබත් අර්වා වගේ ආගමික කරුණු දෙමව්පියන්ගෙන් අහල ඉගෙන ගන්නත්, පොත් පත් කියවා දැන ගන්නත් වැයම් කළ යුතුයි. ආදරණීය දරුවනි! ඔබ එහෙම කරනවා නේ ද?

ශිෂ්‍යාවෝ :

ඉන්ෂා අල්ලාහ් ගුරුතුමියනි! අනිවාර්යයෙන් ම අපි එහෙම කරනවා.

ගුරුතුමිය :

දරුවනි! දැන් 'මආද්' යනුවෙන් කියන කියාමා දිනය පිළිබඳ විශ්වාසය ගැන බලමු. මරණයත් සමග මිනිස් ජීවිතය අවසන් වන්නේ නැත. කබ්ර් හි මිනිස්සු නැවත වාරයක් නැගිටවනු ලබති. ඔවුහු මුන්කර් නකීර් යන මලාඉකාවරුන් විසින් ප්‍රශ්න කරනු ලබති. ප්‍රශ්න කිරීමෙන් පසුව කබ්ර් ජීවිතය ස්වර්ගයේ උයනක් ලෙස හෝ නිරයේ අගාධයක් ලෙසට පත්වේ.

ඉල්මා :

ගුරුතුමියනි! දෙවන සූර් පිඹීම සමග මිනිසුන් මහ්ෂර් පිටියේ දී රැස් කරනු ලබන බව රසානා ගුරුතුමිය කිව්වා. ඒ කබ්ර් ජීවිතයෙන් පසුව නේ ද?

ගුරුතුමිය :

ප්‍රථම සූර් පිඹීමත් සමග ලෝක විනාශය ආරම්භ වෙනවා. සියලුම ජීවිහු මැරී යනවා. නියමිත කාලයේ දී දෙවන සූර් පිඹීමත් සමග මළ අය පණ ලැබ නැගිටිති. ඔවුහූ මහ්ෂර් නම් පිටියේ රැස් කරනු ලබති. ඉන් පසු ප්‍රශ්න ඇසීම සිදුකෙරේ. පින් කළ අය ස්වර්ගයටත් පව් කළ අය නිරයටත් යවනු ලබති. මෙම කරුණු සියල්ලට ම මආද් යැයි කියන්නෙමු.

දැන් තව්හීද් රිසාලත් සහ මආද් යන පදවල අර්ථය ඔබට පැහැදිලිව දැන ගන්නට ලැබුණා.

ඉන්ෂා අල්ලාහ් ඊළඟ පාඩමෙන් හමුවෙමු.

ශිෂ්‍යාවෝ:

ජසාකල්ලාහු හයිරන්

**1. පහත සඳහන් අරාබි පදවල තේරුම සඳහන් කරන්න.**

(අ) තව්හීද් (ආ) මුඃමින් (ඇ) ආමන්තුබිල්ලාහ් (උ) රිසාලත් (ඌ) මආද්

2. අල්ලාහ් පිළිබඳව ඔබ විශ්වාස කරන්නේ කෙසේ ද?

3. රසූල්වරු යනු කවරහු ද?

4. සූර් පිඹීමත් සමග කුමක් සිදුවේ ද?

5. පහත සඳහන් මලාඉකාවරුන්ගේ කාර්යයන් සඳහන් කරන්න

අ) ජිබ්රීල් අලෛහිස්සලාම්

ආ) මුන්කර් නකීර් අලෛහිමස්සලාම්

3

# අල්ලාහ් මැවුම්කරුවාය

මිනිසුන් වන අප මැව්වේ කවු ද? අප ජීවත්වන මෙලොව මැව්වේ කවු ද? පොළොවේ ඇති සාගර, ගංගා, වනාන්තර, කඳු ආදිය මැව්වේ කවු ද? සතුන්, කුරුල්ලන්, මාළුන්, කෘමීන් ආදිය මැව්වේ කවු ද?

මේවා මූලික ප්‍රශ්න වන්නේ ය. එනිසා මෙම ප්‍රශ්න මිනිසුන් සියල්ලන්ගේ ම සිතෙහි පැන නැගින්නේ ය. මේවාට නිවැරදි පිළිතුරු අපි දැනගත යුතු ය.

අපි ඉගෙනුම ලබන පන්ති කාමරය, එහි තිබෙන පුටු, මේස ඉගැන්වීමේ උපකරණ ආදිය මෙහි ඉබේ ම ඇති වුණු ඒවා ද? සැබැවින් ම මෙම පාසල ද එහි ඇති පන්ති කාමර ද ඉදි කර ඇත්තේ ගොඩනැගිලි ඉදිකරන්නන් විසින් විය යුතුය.





මෙහි ඇති ලී බඩු වඩු බාස්වරුන් විසින් සාද තිබිය යුතුය. පොත් පත් ලේඛකයන් ලියා මුද්‍රණය කළ ඒවා විය යුතුය.

මෙසේ නොව ඒවා ඉබේ පහළ වූ ඒවා වන්නේ කෙසේ ද? සැබැවින් ම එය විය නොහැකි දෙයකි.

පාන් සදන බේකරියක් සළකා බලමු. එහි තිරිඟු ඉබේ ම තිරිඟු පිටි බවට පත්වනවා ද? එම පිටි ගෝනි යන්ත්‍රවලට ඉබේම හැලෙනවා ද? යන්ත්‍ර ඉබේම ක්‍රියාත්මක වෙනවා, පාන් ඉබේ සැදෙනවා කියා යමෙක් කිවහොත් ඔබ විශ්වාස කරනවා ද?

ඔබ නිවසේ කුස්සියේ තේ, බත්, මාළු වැනි දේ ඉබේ පිළියෙළ වනවා ද? නැත්නම් දැනුම හා බුද්ධිය ඇති ඔබගේ මව ඒවා පිස ඔබ වෙත එවනවා ද? ඔබගේ කෑම මේසයට ආහාර ඉබේ පැමිණි බව ඔබගේ මව කීවත්, ඔබ විශ්වාස කරනවා ද? මෙම කටයුතු පියවරෙන් පියවර ක්‍රියාත්මක කිරීමට කෙනකු අවශ්‍යයි නේද?

මෙමගින් අපි වටහා ගන්නේ කුමක් ද? ඕනෑම මැවීමකට මැවුම්කරුවෙකු සිටිය යුතු ය. මැවුම්කරුවකු නොමැතිව කිසිදු මැවීමක් බිහි වන්නේ නැත. මෙවැනි ඕනෑම දෙයක් ක්‍රියා කිරීමට ක්‍රියාකරවන්නකු සිටිය යුතු ය.

එම ක්‍රියා කරවන්නා බුද්ධිමත් මෙන් ම ශක්තිය හා හැකියාව ඇති අයකු විය යුතු ය. දැන් පොළොව දෙස බලන්න. පුළුල් වූ සයුර දෙස බලන්න. උසින් ද ගාම්භීරව ද පෙනෙන කඳු දෙස බලන්න. අහසේ පුළුන් මෙන් පාවෙන වලා තීරයන් දෙස බලන්න. කැලෑවේ සැරිසරණ අලි, ඇතුන්, සිංහයන්, ව්‍යාඝ්‍රයන් දෙස බලන්න. කපුටන්, ගිරවුන්, උකුස්සන් වැනි අහසේ පියාඹන කුරුල්ලන් දෙස බලන්න.

බළලුන්, බල්ලන්, ගවයින් වැනි වත්තේ ගැවෙසෙන සුරතල් සතුන් දෙස බලන්න.

මේ සියල්ල ඇත්තෙන් ම දැනුමත් හැකියාවත් ඇති අයෙකු විසින් ම මවා තිබිය යුතු ය. එම මැවුම්කරුවා අල්ලාහ් ය.

මිනිසුන් වන අපව මෙන් ම අපගේ මුතුන් මිත්තන් යන සියල්ලන් ම මැව්වේ අල්ලාහ් ය. ප්‍රථම මිනිසා වන ආදම් අලයිහිස්සලාම් මැව්වේ අල්ලාහ් ය. ඔහුගේ ඉල ඇටයෙන් හව්වා අලයිහිස්සලාම් මැව්වේ ද අල්ලාහ් ය. ඔවුන් දෙදෙනාගෙන් අද දක්වාත්, මතුවටත් මිනිස් පරම්පරාවන් මවන්නේත් අල්ලාහ්ය. මිනිසා ඇතුළු අන් සියලු ම මැවීම් මැව්වේ අල්ලාහ් යැයි අපි ස්ථිර ලෙස විශ්වාස කරමු.

අල්ලාහු හාලිකුනා අල්ලාහහු රාසිකුනා

අල්ලාහ් හාදීනා සුබ්හාන මව්ලානා

| | |
|---|---|
| අප මැව්වාවූ | අල්ලාහ් |
| අප කුස පිරවූ | අල්ලාහ් |
| යහ මග පෙන්වන | අල්ලාහ් |
| පරිශුද්ධ ස්වාමියා | අල්ලාහ් |

ක්‍රියාකාරකම

1. අහස් තලයේ පියාසර කරන වී කුරුල්ලෙක් දෙස බලන්න. ඌට අල්ලාහ් ලබා දී ඇති දායදයන් ලැයිස්තු ගත කරන්න.
2. අල්ලාහ්ගේ මැවුමක් වන මිනිසා සහ ඔහුට සෙවණ ලබා දෙන නුග ගහ අතර පවතින වෙනස්කම් ලැයිස්තු ගත කරන්න.

# 4

# අල්ලාහ්ගේ මැවුම්

දරුවනි! මිනිසා ඇතුළු අන් සියලු මැවුම් අල්ලාහ්ගේ මැවීම් බව පසුගිය පාඩමේ දී කියවුවා මතක ද?

අල්ලාහ්ගේ මැවීම් අතර පණ ඇති ඒවා පවතිනවා. මිනිසුන්, සතුන්, කුරුල්ලන්, කෘමීන්, ශාක සහ මත්ස්‍යයන් වැනි දෑ පණ ඇති ඒවා ය. මේවා අතර ශාකවලට එහා මෙහා යා නොහැකිය.

කෘමීන්, ක්ෂුද්‍ර ජීවීන් හා බැක්ටීරියා ආදීන් අපගේ පියවි ඇසට නොපෙනෙන ඉතා කුඩා ජීවීන් ය.

පස, ජලය, ගින්දර, කඳු සහ ගංගා යනාදිය පණ නැති ඒවාය. සුළඟ, විදුලිය, තාපය, චුම්බකත්වය වැනි අල්ලාහ්ගේ මැවිම් වන ශක්තීන්ට ද පණ නැත.

අප ජීවත්වන පෘථිවියට එහායින් පිහිටි අල්ලාහ්ගේ මැවීම් වශයෙන් ඉර, හඳ, තාරකා, ග්‍රහලෝක යනාදිය සඳහන් කරන්න පුළුවන්. විශ්වයේ පවතින අල්ලාහ්ගේ අති විශාල මැවීම් වන මේවා චලනය වෙමින් පවතිනවා. නමුත් ඒවා ද පණ ඇති ඒවා නොවේ.



ලෝකයේ පවතින පණ ඇති, පණ නැති  හා විශ්වයේ පවතින අනෙක් අති විශාල  මැවීම් සියල්ල ම පුදුම සහගත ඒවා ය. තවද ඒවා මවා ඇත්තේ ද සැලසුම් සහගත ආකාරයටය. ඒවා ක්‍රමවත් ආකාරයට ක්‍රියාත්මක වෙමින් පවතිනවා. එමගින් ඒවා මවා ඇත්තේ  දැනුම සහ ශක්තිය ඇති අල්ලාහ් විසින් බව අපට මනාව පැහැදිලි වෙනවා නේ ද?

දරුවනි! අපගේ ඉන්ද්‍රියයන්ට ගෝචර නොවී පිහිටන තවත් ලොවක් ද තිබෙනවා. එහි අල්ලාහ්ගේ මැවුම්  පවතී. එයින් මලක්වරුන් ප්‍රධාන ය. අල්ලාහ් විශ්වාස කරන මුඃමින්වරුන් ඔහුගේ මලක්වරුන් ගැන ද විශ්වාස කළ යුතුයි. මේ ගැන අල් කුර්ආනය පහත සඳහන් පරිදි පවසයි.

"විශ්වාසවන්තයින් සියල්ලෝ ම අල්ලාහ් සහ ඔහුගේ මලක්වරුන්, ඔහුගේ ආගම් සහ ඔහුගේ වක්තෘන්වරුන් පිළිබඳව විශ්වාස කරති. (2:285)"

අල්ලාහ් පළමු මිනිසා වන ආදම් අලෛහිස්සලාම් තුමා පසෙන් මැව්වේ ය. එහෙත් මලක්වරුන් මවනු ලැබුවේ ආලෝකයෙන් ය. මලක්වරු පිරිමි හෝ ගැහැනු හෝ නොවෙති. ඔවුනට දෙමාපියන් හෝ  දරුවන් හෝ නොමැත. මිනිසුනට මෙන් බඩගින්න, පිපාසය, ආශාවන්, වෙහෙස, නින්ද, මහළු වීම හෝ  දුබලවීම ආදිය ඔවුනට නැත. එසේම ඔවුනට දේවත්වයක් ද නැත. ඔවුහු අල්ලාහ් විසින් පනවන ලද වගකීම් පැහැර නොහැර ඉටු කරති. ඔවුහු අප්‍රමාණ වෙති.

මලක්වරුන්ගේ  සංඛ්‍යාව දන්නේ අල්ලාහ් පමණි. ඔවුන්ගේ සංඛ්‍යාව අති විශාල ය. ඔවුනතුරෙන් වැදගත් අය දස දෙනෙකි. මලක්වරුන් අතරින් ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා ඉතා වැදගත් කෙනෙකි. අල්ලාහ්ගෙන් නබිවරුන් වෙත පණිවිඩ ගෙන එන්නේ ඔහුය. අර්රූහ්, නාමූසුල් අහ්ලම්, සහ රූහුල් කුද්ස් යනාදී සුවිශේෂී නම් ද ඔහුට ඇත.

මීකායීල් අලෛහිස්සලාම් තුමා යන මලක්වරයා සුළඟ, ජලය, ගින්න, වැනි ඒවා භාරව කටයුතු කරයි. ඉස්රාෆීල් අලෛහිස්සලාම් තුමා කියාමා දිනය ළඟාවන විට සූර් පිඹියි. මලකුල් මව්ත් අලෛහිස්සලාම් තුමා ප්‍රාණය  අත්පත් කරයි. රකීබ්, අතීද් අලෛහිස්සලාම් යන දෙදෙනා මිනිසා කරන හොඳ නරක සටහන් කරති. මුන්කර්, නකීර් අලෛහිස්සලාම් තුමානන් දෙදෙනා කබ්ර් හි ප්‍රශ්න කරති. රිල්වාන් අලෛහිස්සලාම් තුමන් ස්වර්ගයේ අධිපතියා ය. මාලික් අලෛහිස්සලාම් තුමා නිරයේ අධිපතියා ය.

අපගේ ඉන්ද්‍රියයන්ට ගෝචර නොවන ආකාරයේ අල්ලාහ් ගේ මැවුම් අතර තවත් කොටසක් ද වෙති. ඔවුහු ජින්වරු නම් වෙති. ඔවුහු ගින්නෙන් මවනු ලැබූ අය වෙති. මිනිසුන්ට මෙන් මොවුන්ට ද කුසගින්න, පිපාසය, නින්ද, ආශාවන් හා පවුල් ආදිය ඇත. මිනිසුන් මෙන් ජින්වරු ද අල්ලාහ් නැමැදීම හා ඔහුට කීකරු වීම කෙරෙහි අණ කරනු ලැබ සිටිති.

ජින්වරුන් අතර අල්ලාහ්ට අවනත නොවන පිරිස ෂෛතාන්වරු ය. නොයෙකුත් ආකාරයේ නොසන්සුන් තාවයන් ඇති කරන ෂෛතාන්වරුන්ගේ නායකයා ඉබ්ලීස් ය.

දරුවනි! අල්ලාහ් ගේ මැවුම් පුදුම සහගත බව ඔබට වැටහෙනවා ඇත. මෙම කරුණුවලින් පෙන්වා දෙන ආකාරයට සියල්ලෙහි ම මැවුම්කරුවා, සර්ව බලධාරියා අල්ලාහ් බව අපි විශ්වාස කරන්නෙමු.

අභ්‍යාස

1. අල්ලාහ්ගේ අතිමහත් මැවීම් දෙකක් නම් කරන්න.
2. ආදම් අලෛහිස්සලාම් තුමා මවනු ලැබුවේ කුමකින් ද?
3. ජිබ්රීල් අලෛහිස්සලාම් තුමාගේ සුවිශේෂ නම් දෙකක් ලියන්න.
4. මිනිසුන් හා මලක්වරුන් අතර වෙනස්කම් වගු ගත කරන්න.
5. අල්ලාහ්ගේ ආශ්චර්යයන් දකිනවිට අපගේ සිතෙහි ඇති වූ හැඟීම් ලැයිස්තු ගත කරන්න.
6. ජින්වරුන් පිළිබඳව ඔබ දැනගත් කරුණු කෙටියෙන් ලියන්න.
7. ප්‍රධාන මලක්වරුන්ගේ නම් සඳහන් කරන්න.

# 5

# අල් ඉස්ලාම්

අක්මල් : අස්සලාමු අලෛකුම්. මුහම්මද්.

මුහම්මද් : වඅලෛකුමුස්සලාම්. අක්මල්.

අක්මල් : ඔයා ඊයේ ඉස්කෝලේ ගියා ද?

මුහම්මද් : ඇයි ඔයා ඊයේ ඉස්කෝලේ ගියේ නැත්ද ?

අක්මල් : මගේ මාමා අසනීප වෙලා. එයාගේ දුක සැප විමසන්න තාත්තා එක්ක ගියා.

මුහම්මද් : මාෂාඅල්ලාහ්. හොඳ වැඩක්. අපි ඊයේ ඉස්ලාම් පාඩමේ දී අල් ඉස්ලාම් යන මාතෘකාව යටතේ ගොඩාක් දේවල් ඉගෙන ගත්තා.

අක්මල් : ඉතින් ඒ ගැන මටත් කියන්න.

මුහම්මද් : ඉස්ලාම් යන අරාබි වචනයට සාමය, පාලනය, අවනතවීම, භාරවීම වගේ තේරුම් තියෙනවා. අල්ලාහ් විසින් දායාද කළ අවසාන ආගම එයයි. එයට අර්කාන් පහක් තියෙනවා.

අක්මල් : අර්කානුල් ඉස්ලාම් කියන්නේ මොකක් ද?

මුහම්මද් : අර්කානුල් ඉස්ලාම් කියන්නේ ෂහාදා, සලාත්, සකාත්, සව්ම් සහ හජ් වැනි වගකීම්වලට.

අක්මල් : ෂහාදා කියන්නේ මොකක් ද?

මුහම්මද් : ෂහාදා යනු "නැමදුමට සුදුස්සා අල්ලාහ් හැර අන් කිසිවකු නැත" යැයි ද "මුහම්මද් සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමා ඔහුගේ රසූල් යැයි ද සාක්කි දරමින් විශ්වාස කිරීමයි.



අක්මල් : අනෙකුත් වගකීම් ගැනත් කියන්න.

මුහම්මද් : සලාත් යනු, පස් වේල් ඉටුකළයුතු නැමදුම ඉටුකිරීමත්, සකාත් යනු වත්කම් ඇති අය තම ධනයෙන් නියමිත කොටසක් දුගී දුප්පතුන් වෙනුවෙන් දන් දීමත්, සව්ම් යනු රමළාන් මාසයේ උපවාසයේ යෙදීමත්, හජ් යනු පහසුකම් හා අවස්ථා ඇති අය ශුද්ධ වූ මක්කා නගරයට ගොස් ඉටු කරන වගකීමත් වන්නේය. මේවාට අමතරව ඉස්ලාමයට අදාළව වෙනත් සුවිශේෂතා ඇත.

අක්මල් : ඒවා ගැන විස්තර කරලා කියන්න පුළුවන් ද?

මුහම්මද් : ඉස්ලාම් දහම අල්ලාහ් පහළ කළ අවසාන ආගම වන්නේ ය. එය ස්වාභාවික ආගමකි. මිනිස් ජීවිතයේ සියලු ම අවස්ථා වල හා කාල වල හා ස්ථාන වල අනුගමනය කළ හැකි ආගමකි. යුක්තිය, ඉවසා දරා ගැනීම, අවංකත්වය, සහජීවනය ආදිය එහි සුවිශේෂතා ය. ජීවිතයේ සියලුම කරුණුවල දී ඉස්ලාම් දහම පවසන යහමාර්ගය අනුගමනය කිරීමෙන් සාරධර්ම සහ යහගුණයන් වර්ධනය වන්නේ ය. තව ද අල්ලාහ් අප නිරීක්ෂණය කරන්නේය. "කියාමාවේ දී අපගේ ක්‍රියා ගැන ප්‍රශ්න කරනු ලබන්නේ ය" යන හැඟීම නිසා යහමග අනුගමනය කිරීමට පොළඹවනු ලබන්නේය.

අක්මල් : ඉස්ලාමීය ජීවන ක්‍රමය අනුගමනය කිරීමෙන් බලාපොරොත්තු වන්නේ කුමක් ද?

මුහම්මද් : මෙලොව ජීවිතයේ සැනසීම, අල්ලාහ්ගේ තෘප්තිය හා ස්වර්ගයේ ජීවත් වීමේ අවස්ථාව උදා කර ගැනීමයි.

අක්මල් : ජසාකල්ලාහු කයිරා!

මුහම්මද් : අපි අපගේ ජීවිතයේ මේවා අනුගමනය කරමු. ඉන්ෂා අල්ලාහ්.

අභ්‍යාස

පහත සඳහන් ප්‍රකාශ හරි නම් (හරි) යැයි ද වැරදි නම් (වැරදි) යැයි ද ලියන්න.

1. ඉස්ලාම් යන අරාබි වචනයේ අදහස පාලනය කිරීම හෝ භාර වීම යන්න ය. (   )

2. අර්කානුල් ඉස්ලාම් යන්නෙන් අදහස් වන්නේ ඉස්ලාමයේ වගකීම් ය. (   )

3. ඉස්ලාම් කුළුණු පහක් මත ගොඩනැගී ඇත. (   )

4. ඉවසා දරා ගැනීම, සහජීවනය යනාදිය ඉස්ලාමයට පරිබාහිර ඒවා ය. (   )

5. ඉස්ලාමීය මගපෙන්වීම නොසලකන අය ස්වර්ගයට පිවිසෙති. (   )

# 6

# ඉස්ලාමයේ වගකීම්

වරක් නබි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තම සහාභාවරුන් සමග සිටියහ. එවිට ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා මිනිස් වෙසින් පැමිණ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඉදිරියෙහි ඉඳ ගත්තේය. ඉස්ලාම් යනු කුමක් දැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගෙන් විමසුවේ ය. එයට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ඉස්ලාම් යනු නැමදුමට සුදුස්සා අල්ලාහ් හැර අන් කිසිවකු නොවේ යැයි ද නබි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් අල්ලාහ් ගේ වක්තෘවරයා යැයි සාක්ෂි දැරීම (ෂහදා), සලාතය ඉටු කිරීම, සකාත් දීම, රමළාන් මාසයේ සව්මය ඉටු කිරීම, සහ හැකියාව ඇති අය හජ් වගකීම ඉටු කිරීමත් බව පිළිතුරු දුන්හ. මෙම හදීසයෙන් ඉස්ලාමයේ වග කීම් පහ පැහැදිලිව දැක්වේ. ඒ පිළිබඳ තව දුරටත් බලමු.

### ෂහාදා

ෂහාදා යනු පුද්ගලයෙක් ඉස්ලාමය පිළිගැනීම සඳහා වන දිවුරුම් ප්‍රකාශය වන්නේ ය. සැම කෙනකු ම මෙය පිරිසිදු සිතින් ඉසිරීම අත්‍යවශ්‍ය ය. 'ලාඉලාහ ඉල්ලල්ලාහු මුහම්මදුර් රසූලුල්ලාහ්' යැයි පැවසීම ෂහාදා යැයි හැඳින්වේ. මෙම කලිමාවෙහි අල්ලාහ් සහ ඔහුගේ වක්තෘවරයා විශ්වාස (ඊමාන්) කිරීම අන්තර්ගත ය.

කෙනෙක් මෙම කලිමාව පවසා ඉස්ලාමයට පැමිණීම මගින් ස්වර්ගයට පිවිසීමේ භාග්‍යය ලබන්නේ ය. කවරෙකු "ලාඉලාහ ඉල්ලල්ලාහු මුහම්මදුර් රසූලුල්ලාහ් යැයි පවසමින් ඒ අයුරින් ම ක්‍රියා කරන්නේ ද ඔහු ස්වර්ගයට පිවිසෙන්නේය" යැයි නබි සල්ලල්ලාහු අලයිහිවසල්ලම් තුමා පවසා ඇත. (බුහාරි මුස්ලිම්)




**සලාතය**

ඉස්ලාම් පවසන වගකීම් අතර දෙවැනි වගකීම සලාතය වන්නේ ය. මෙය දිනපතාම පස්වේලක් නියමිත වෙලාව නොවරදවා ඉටු කිරීම සෑම මුස්ලිම්වරයෙකුගේ ම වගකීම වන්නේ ය. මේ ගැන නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමා පහත සඳහන් පරිදි පවසා ඇත. "මුස්ලිම්වරයෙකු හා කාෆිර්වරයෙකු අතර වෙනස සලාතය අතහැරීම වන්නේ ය" (බුහාරි)

වරක් ඉබ්නු අබ්බාස් රලියල්ලාහු අන්හු තුමා නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාගෙන් "මා හට ස්වර්ගයට පිවිසීමට මං පාදන ඉබාදතයක් කියා දෙන්න" යැයි ඇසුවේ ය. එයට නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාණෝ "අල්ලාහ්ව නමදින්නඃ ඔහුට කිසිවක් සම නොකරන්න, සලාතය ස්ථාපිත කරන්න යැයි පැවසූහ." (බුහාරි)

**සකාතය**

ඉස්ලාම් පවසන අනිවාර්ය වගකීම් අතර තුන්වැනි වගකීම සකාතය වන්නේ ය. මෙය ආර්ථික වශයෙන් වත්කම් ඇති සෑම මුස්ලිම්වරයකු ම තම ධනයෙන් කොටසක් සකාත් ලැබීමට සුදුසු පිරිසට ලබාදීම කළ යුතු ය. මෙයින් ධනය පිරිසිදු වන්නේ ය. නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමා යෙමන් රාජ්‍යයට මුආද් රළියල්ලාහු අන්හු තුමා ආණ්ඩුකාරවරයා ලෙස යැවූ අවස්ථාවේ, "අල්ලාහ් සකාතය වගකීමක් කර ඇත. එය ධනවතුන්ගෙන් ලබාගෙන දුප්පතුන්ට ලබා දිය යුතු"යැයි පැවසූහ. (බුහාරි, මුස්ලිම්)

**සව්මය**

අල්ලාහ් විසින් පනවන ලද හතරවන  වගකීම සව්මය වන්නේ ය. සෑම මුස්ලිම්වරයකුම අවුරුදු පතා රමළාන් මාසයේ දී දිනපතා නිශ්චිත කාලයක් නොකා නොබී සහ සව්මය බිඳවන අනෙකුත් කාර්යයන්හි නො යෙදී අල්ලාහ්



වෙනුවෙන් කුසල් බලාපොරොත්තුවෙන් සව්මයෙහි නිරත විය යුතු ය. සව්මය හේතුවෙන් පව් සමා කෙරෙන්නේ ය. ස්වර්ගයට පිවිසීමේ අවස්ථාව උදාවන්නේ ය.

"කවරෙක් රමළාන් මාසයේ ඊමානයෙන් යුතුව ආනිසංස බලාපෙරොත්තුවෙන් සව්මය ඉටු කරන්නේ ද, ඔහුගේ සියලු ම පව් සමා කෙරෙන්නේ ය"යැයි නබි සල්ලල්ලාහු අලයිහිවස්සල්ලාම් තුමාණෝ පැවසූහ. (බුහාරි, මුස්ලිම්)

### හජ්

ඉස්ලාම් දහම නියම කර ඇති වගකීම් අතුරෙන් පස්වන වගකීම හජ් වන්නේ ය. වත්කම, හැකියාව සහ ශාරීරික ශක්තිය ඇති සෑම මුස්ලිම්වරයකුම තම ජීවිතයේ වරක් හෝ මෙම වගකීම ඉටු කිරීම අනිවාර්ය වන්නේ ය. මෙමගින් ඔහුගේ සියලු පව්වලට සමාව දෙනු ලැබ එදා උපන් ළදරුවකු මෙන් පාරිශුද්ධ අයෙකු වන්නේ ය.

"පිළිගනු ලැබූ හජ් වගකීම වෙනුවෙන් ස්වර්ගය හැර වෙනත් දීමනාවක්

නොමැත" යැයි නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාණෝ පැවසූහ. (තිර්මිදි)

මෙම වගකීම් අතර පරස්පර සම්බන්ධතාවයක් දක්නට ඇත. මේවා ඉටුකිරීමෙන් තනි මිනිසුන් අතර ද එමෙන් ම සමාජය අතර ද සම්බන්ධතා දැඩි වන්නේ ය.

එනිසා ඉස්ලාම් දහම පවසන යුතුකම් නිවැරදි අයුරින් ඉටුකිරීමෙන් අල්ලාහ්ගේ ආදරයත් අනුමැතියත් ලබා ගනිමු.

අභ්‍යාස

පහත සඳහන් ප්‍රශ්නවලට කෙටි පිළිතුරු සපයන්න.

1. ඉස්ලාම් පිළිබඳව නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාගෙන් විමසුවේ කවු ද ?
2. සලාතයේ වැදගත්කම අවධාරණය කරන හදීසයක් සඳහන් කරන්න.
3. ධනය පිරිසිදු කරන යුතුකම කුමක් ද?
4. ෆර්ල් වූ සව්ම සමාදන් වන්නේ කුමන මාසයේ ද ?
5. අනුමත කරන ලද හජ් යුතුකමට  අල්ලාහ් විසින් දෙනු ලබන සම්මානය කුමක් ද ?

## 7

# අත්තහාරත් 1

**ජලය හා නජීසය** - "පිරිසිදුකම ඊමානයේ කොටසකි" යන්න නබි වදනකි. ඉස්ලාමය පිරිසිදුකම අගයන දහමකි. එය පිරිසිදුව සිටින්නන් ප්‍රිය කරයි. ඉස්ලාමයේ පිරිසිදුකම ඉබාදතයන් හා බැඳී පවතී. අර්කානුල් ඉස්ලාමයේ අඩංගු ඉබාදත් සහ අනෙකුත් දේ පිළිගැනීමට ඇති කොන්දේසිය වශයෙන් ඉස්ලාම් සළකන්නේ පිරිසිදුකම ය. එනිසා අල්ලාහ් ද පිරිසිදුව සිටින අය ප්‍රිය කරන බව අල්කුර්ආනය පවසයි. අභ්‍යන්තරව මෙන්ම බාහිරව ද පිරිසිදුව තිබීම අත්තහාරත් නමින් හැඳින් වේ.

ඊර්ෂ්‍යාව, වංචාව, ආඩම්බරකම, අහංකාරකම, ලෝබකම, මුනිච්ඡාව, කපටිකම ආදී පහත් ගතිගුණවලින් අපි අපගේ සිත පිරිසිදු කර ගැනීම අභ්‍යන්තර පාරිශුද්ධතාව නම් වේ. අල්කුර්ආන් පාරායනය, දික්ර් කිරීම, තස්බීහ් කිරීම, පව් සමාව අයැදීම, සලවාත් පාරායනය වැනි දෑ සිත පිරිසිදු කරන යහක්‍රියාවන් ය.

නජීස්වලින් සිරුර, ඇඳුම්, පදිංචි ස්ථානය, වටාපිටාව යනාදිය පිරිසිදුව තබා ගැනීම බාහිර පිරිසිදුකම නම් වේ. දෛනික කටයුතුවල දී පිරිසිදුකම රැකගැනීම අනිවාර්ය වන්නේ ය. පිරිසිදුකම රැකීමට මිනිසා නජීස්වලින් වැළකී සිටිය යුතු ය. එනිසා නජීසය ඉවත් කරන ආකාරය පදනම් කරගෙන එය කොටස් තුනකට බෙදේ.

1. දැඩි නජීස් 2. සමාන්‍ය නජීස් 3. සැහැල්ලු නජීස්

**දැඩි නජීස්** - බල්ලන්ගේ හා ඌරන්ගේ කෙළ මෙයට උදාහරණ වන්නේ ය. මෙම නජීසය පිරිසිදු කිරීම සඳහා හත් වතාවක් ජලය යොදා සේදිය යුතුයි. එයින් එක් වතාවක් පිරිසිදු පස් භාවිතා කළ යුතු ය.

**සාමාන්‍ය නජීස්** - ලේ, වමනය, මත්පැන්, මළ, මූත්‍ර, කුණු, කෙළ යනාදිය මෙම වර්ගයට අයත් ය. මෙම නජීසය පිරිසිදු කරන අවස්ථාවේ දී නජීස් තැවරුණු ස්ථානය පළමුව පිරිසිදු ජලයෙන් සේදිය යුතු ය. මේ සඳහා සබන් හෝ සෝදන කුඩු යොදා ගැනීමට පුළුවන.

**සැහැල්ලු නජීස්** - වයස අවුරුදු දෙක සම්පූර්ණ නොවූ මව් කිරි පමණක් ආහාර වශයෙන් ගන්නා කුඩා පිරිමි දරුවන්ගේ මූත්‍රා මෙම වර්ගයට අයත් ය. මෙය පිරිසිදු කිරීම සඳහා ඒ මතට ජලය ඉසීම පමණක් ප්‍රමාණවත් ය.

**ජලය හා එහි වර්ග** - ජලය අල්ලාහ් විසින් ලබා දෙන ලද දායාදයකි. තමාව පිරිසිදුව තබා ගැනීම සඳහා මිනිසාට ජලය අවශ්‍යය. ජලයේ ස්වභාවය සහ ධාරිතාව පදනම් කොටගෙන එය කොටස් තුනකට බෙදෙයි.

1) මාඋන් තහූර් (අතිපිරිසිදු ජලය)
2) මාඋන් තාහිර් (පිරිසිදු ජලය)
3) මාඋන් නජීස් (අපිරිසිදු ජලය)

**මාඋන් තහූර් (අති පිරිසිදු ජලය)** - මෙ වැනි ජලය ස්වාභාවයෙන් ම පිරිසිදු ය. එහෙයින් මෙය අපිරිසිදු දෑ පිරිසිදු කිරීම සඳහා යොදා ගත හැකිය. නෑම, වුළූ කිරීම, බීම, නජීස් පිරිසිදු කිරීම වැනි සියලු අවශ්‍යතා සඳහා මෙය භාවිත කරයි. මෙම ජලයට උදාහරණ වශයෙන් මුහුදු ජලය වැසි ජලය, වැව් ජලය, ගංගා ජලය, උල්පත් ජලය, ළිං ජලය වැනි ජල වර්ග සඳහන් කළ හැකි ය.

**මාඋන් තාහිර් (පිරිසිදු ජලය)** - මෙවැනි ජලය පිරිසිදු වුව ද අන් දේවල් පිරිසිදු කළ හැකි ස්වාභාවයකින් තොරය. උදාහරණ වශයෙන් තේ, කෝපි, තැඹිලි වතුර, පිනිදිය, සිසිල් බීම යනාදිය සඳහන් කළ හැකි ය.

**මාඋන් නජීස් (අපිරිසිදු ජලය)** - ලීටර 210 ට අඩු ජලයෙහි නජීස් වන ද්‍රව්‍ය මිශ්‍ර වීමෙන් එහි පාට, රසය හා සුවඳ යනාදිය වෙනස් වන නිසා එම ජලය මෙම වර්ගයට අයත් වේ. මෙය කිසිදු අවශ්‍යතාවයක් සඳහා භාවිතා නොකළ යුතු ය. උදාහරණ වශයෙන් අපවිත්‍ර ජලය, මූත්‍ර යනාදිය සඳහන් කළ හැකි ය.

අභ්‍යාස

1. නජීස්වල ආකාර උදාහරණ සමග ලියා දක්වන්න.

2. පහත සඳහන් ජල වර්ග කුමන වර්ගයට අයත් දැයි හඳුනා ගෙන වගුව සම්පූර්ණ කරන්න.

(වර්ෂා ජලය, මත්පැන්, වැව් ජලය, කෝපි, ගංගා ජලය, පිනිදිය, රා, තැඹිලි වතුර, අරක්කු, අපවිත්‍ර ජලය, තේවතුර)

| අතිපිරිසිදු ජලය | පිරිසිදු ජලය | අපිරිසිදු ජලය |
|---|---|---|
| | | |
| | | |

3. අපි පිරිසිදුව සිටිය යුත්තේ ඇයි?

4. මනස පිරිසිදු කරගන්නේ කෙසේ ද?

5. ශාරීරික පිරිසිදුකම රැක ගැනීමට කුමක් කළ යුතු ද?

6. පහත වගුව සම්පූර්ණ කරන්න.

| **නජීස් වර්ග** | **පිරිසිදු කරන ආකාරය** |
|---|---|
| 1. බල්ලකු ලෙව කෑ භාජනය | |
| 2. වයස අවුරුදු දෙකට අඩු පිරිමි දරුවෙකුගේ මූත්‍රා වැදුණු ඇඳුම | |
| 3. ලේ තැවරුණු ඇඳුම | |
| 4. මළ පහ වැදුණු ඇඳුම | |
| 5. මත් පැන් හලන ලද පොළොව | |



# 8
# අත්තහාරත් 2

## වුලූ ඃ-

ඉස්ලාමීය මූලික වගකීම් අතුරින් සලාතය ඉතා වැදගත් ස්ථානයක් හිමි කර ගනී. මෙය ඉටුකිරීම සඳහා වුලූඃ අති වැදගත් ය. වුලූඃ නොමැතිව ඉටුකරන කිසිම සලාතයක් අල්ලාහ් විසින් පිළිගනු නොලබන්නේ ය. මුස්ලිම්වරයෙක් හැකි සෑම අවස්ථාවක දීම වුලූඃ සමග සිටීම යහපත් දෙයකි. වුලූඃවල ප්‍රතිඵලය ලෙස මුඃමින්වරු කියාමාවේ දී (ඝුර්රන් මුහජ්ජලීන්) මුහුණ අත් සහ පාද දීප්තිමත් වූවන් ලෙස පැමිණෙති.

වුලූඃ විධිමත් ලෙස ඉටු කිරීම සඳහා ෆර්ල්, සුන්නත් සහ මුබ්තිලාත් පිළිබඳ ව සැළකිලිමත් විය යුතුයි.

## වුලූහි ෆර්ල්

1. වුලූඃ කිරීම ආරම්භ කරන විට වුලූඃ කරන්නෙමි යන චේතනාව ඇති කරගත යුතු ය. මෙයට අරාබියෙන් "නියියත්" යැයි කියනු ලැබේ.
2. මුහුණ සම්පූර්ණයෙන් සේදීම, එනම් උසින් නළලේ සිට උගුරු පතුල දක්වා සහ පළලින් කන් දෙක අතර සම්පූර්ණයෙන් ම සේදිය යුතු ය.
3. වැළමිට ඇතුළුව අත් දෙක සේදිය යුතු ය.
4. හිස මස්හු කළ යුතු ය.
5. දෙපා විලුඹ දක්වා සේදිය යුතු ය.
6. ඉහත කරුණු අනු පිළිවෙළට ඉටු කළ යුතු ය.

   

### වුලූඃහි සුන්නතයන්

1. වුලූඃ කරන අවස්ථාවේ දී කිබ්ලාවට මුහුණ ලා සිටීම
2. වුලූඃ කරන අවස්ථාවේ දී බිස්මි කීම
3. දෙඅත් මැණික් කටුව තෙක් සේදීම
4. දත් මැදීම (මිස්වාක් කිරීම)
5. කටට හා නාසයට වතුර යොමා සේදීම
6. දකුණු පස අවයව පෙරටු කිරීම
7. හිස සම්පූර්ණයෙන් ම මස්හු කිරීම
8. කන් දෙක මස්හු කිරීම
9. සෑම අවයවයක් ම තෙවරක් සේදීම
10. වුලූඃ සඳහා වන දුආව පාරායනය කිරීම

පහත සඳහන් අයුරු. දෙවන කලිමාව පාරායනයෙන් අනතුරුව පහත සඳහන් දුආව (ප්‍රාර්ථනාව) ද පාරායනය කළ යුතුය,

أَشْهَدُ أَنْ لَاإِلٰهَ إِلاَّ اللهُ وَحْدَهُ لَا شَرِيكَ لَهُ

وَ أَشْهَدُ أَنَّ مُحَمَّداً عَبْدُهُ وَرَسُوْلُهُ

اَللّٰهُمَّ اجْعَلْنِي مِنَ التَّوَّابِيْنَ وَاجْعَلْنِي

مِنَ الْمُتَطَهِّرِيْنَ وَاجْعَلْنِي مِنْ عِبَادِكَ الصَّالِحِيْنَ

"නැමදුමට සුදුස්සා අල්ලාහ් හැර අන් කිසිවකු නොවන්නේය" යැයි ද ඔහු ඒකයකු හා ඔහුට සම කිසිවෙකු නැතැයි ද සාක්ෂි දරමි. තවද මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අල්ලාහ්ගේ වහලා හා දූතයා යැයි ද සාක්ෂි දරමි.

දෙවියනි, මාව පව් සමා අයදින්නන්ගෙන් කෙනෙකු ලෙසත්, පිවිතුරු පුද්ගලයන් ගෙන් කෙනෙකු ලෙසත්, යහ ගැත්තන්ගෙන් කෙනෙකු ලෙසත්, පත් කරනු මැනවි.

## වුලූඃ බිඳවන කරුණු (මුබ්තිලාත්)

1. ඉදිරිපස හෝ පසුපස විවරයකින් යමක් පිටවීම
2. සිහි විකල් වීම (සිහිය නැති වීම, නින්ද, මත්බව වැනි එකකින්)
3. අජ්නබි වන ස්ත්‍රීන් හා පුරුෂයින් තිරයක් නොමැති ව අනුරාගයෙන් ස්පර්ශ කිරීම
4. තිරයක් නොමැති ව තම සිරුරේ රහස් අංග ස්පර්ශ කිරීම

ඉහත සඳහන් වුලූඃ හි ෆර්ල්, සුන්නත යනාදිය ගැන සැලකිලිමත් වෙමින් මුබ්තිලාත්වලින් වැළකී සිටිමු.

අභ්‍යාස

නිවැරදි පිළිතුර යටින් ඉරක් අඳින්න

1. වුලූඃහි ෆර්ලයන් (හයක්, තුනක්, හතරක්) වේ.
2. දෙකන් මස්හු කිරීම වුලූඃ හි (ෆර්ලු, සුන්නත්, මුබ්තිලාත් ) වේ.
3. විලුඹ ඇතුළුව දෙපා සේදීම වුලූඃ හි (ෆර්ලු, සුන්නත්, මුබ්තිලාත්) වේ.
4. වුලූඃ බිඳවන කරුණකි (දත් මැදීම, සිහිසුන් වීම, මුහුණ සේදීම)
5. වුලූඃ කරන අවස්ථාවේ දී සෑම අවයවයක් ම (වතාවක්, දෙවතාවක්, තුන් වතාවක්) සේදිය යුතු ය.

ක්‍රියාකාරකම්

වුලූඃ කළ වහාම පාරායනය කළ යුතු දුආව අරාබියෙන් ලියන්න. එය කට පාඩම් කරන්න.

# 9

# සලාතය 1

ඉස්ලාම් අවධාරණය කරන පස්මහා වගකීම් අතුරින් සලාතය ප්‍රධාන ය. එය බාල මහලු, බලවතා - දුබලයා, රෝගී - නිරෝගී, ගැහැනු - පිරිමි භේදයකින් තොර ව සියලු මුඃමින්වරුන්ට පවරනු ලැබූ අනිවාර්ය වගකීමකි.

කලිමාව පාරායනය කර අල්ලාහ් රබ්බු ලෙස ද නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඔහුගේ දූතයා ලෙස ද පිළිගත් අය සලාතය නොවරදවා අඛණ්ඩ ව ඉටු කළ යුතු ය. ඒ පුද්ගලයාගේ අල්ලාහ් කෙරෙහි ඇති විශ්වාසය ප්‍රායෝගිකව තහවුරු වන්නේ එවිට ය. එසේ නොමැති ව කෙනකු එය ඉටු නොකර අදිමදි කරනා විට ඔහු සහ දෙවියන් ප්‍රතික්ෂේප කරන්නන් අතර කිසිදු වෙනසක් නොමැත. මෙය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැහැදිලි ව අවබෝධ කර දුන්හ.



මුස්ලිම් දරුවෙකුගේ වයස අවුරුදු හත වන විට දෙමව්පියන් විසින් එම දරුවාට සලාතය ඉටු කිරීමට පුරුදු පුහුණු කළ යුතු ය. වයස අවුරුදු 10 වන විට එය නොවරදවා ඉටු කළ යුතු ය. කිසිදු අවස්ථාවක සලාතය මගහැරිය නොහැකි ය. එහෙයින් ගමනක යෙදී සිටින විට කෙටි කොට හෝ එකතු කොට හෝ සලාතය ඉටු කළ හැකි ය. ජලය නැති විට හෝ ජලය භාවිතා කළ නොහැකි අවස්ථාවක තයම්මුම් කිරීමෙන් හෝ සලාතය ඉටු කළ යුතු ය. එසේම රෝගී අවස්ථාවක දී වාඩි වී, ඇල වී හෝ ඉඳගෙන හැකි ආකාරයෙන් සලාතය ඉටු කිරීමට සහන සළසා ඇත. එමගින් සීමිත අවස්ථා කිහිපයක දී හැර අන් සෑම අවස්ථාවක ම සලාතයේ දී කිසිවකුට සහනයක් සලසා දී නැත. එය මුඃමින්වරුන්හට කාලය නිර්ණය කරන ලද වගකීමකි.

මීළඟට, සලාතයේ වැදගත්කම, එය ඉටුකිරීම නිසා ලැබෙන කුසල, එය නොසලකා හැරීම හෝ මගහැරීම නිසා ලැබෙන දඬුවම් ආදිය ගැන අල් කුර්ආනයේ සහ අල් හදීස් හි දක්වා ඇති උපදෙස් පිළිබඳව සොයා බලමු.

'සැබවින් ම අල්ලාහ් මම ය. මා හැර අන් සර්වබලධාරියකු නැත. එහෙයින් මා නමදින්න. මා මතක් වන ආකාරයෙන් සලාතය ඉටු කරන්න.' (අල් කුර්ආන් 20:14)

ඔබගේ දරුවන්ට වයස අවුරුදු හත වූ විට සලාතය ඉටුකරන ලෙස අණ කරන්න. වයස අවුරුදු දහය වන විට ද ඔහු සලාතය ඉටු නොකරයි නම්, ඔවුන්ට පහරක් දී හෝ සලාතය ඉටු කිරීමට සලස්වන්න. (අහ්මද්, අබූදාවූද්)

ඉහතින් සඳහන් අල් කුර්ආන් වැකියෙන් සහ නබි සල්ලල්ලාහු අලයිහිවසල්ලම් තුමාගේ වැකියෙන් අඛණ්ඩව හා පිළිවෙළකට අනුව සලාතය ඉටු කළ යුතු බව අවධාරණය කෙරේ.

එසේම ඔබ 'සකර්' නැමැති නිරයට ඇතුළුවීමට සැලැස්වූයේ කුමක් ද? (යැයි ස්වර්ගයේ සිටිමින් අසති) එයට පිළිතුරු වශයෙන් "අපි සලාතය ඉටු කරන්නන් ලෙස නොසිටියෙමු" යැයි අල් කුර්ආනයේ සඳහන් වේ. (අල්කුර්ආන් 74:42,43)

තව ද කවරකු සලාතය රැක ගන්නේ ද ඔහුට එම සලාතය ආලෝකයක් ලෙස ද, සාක්ෂියක් ලෙස ද දී කියාමා දිනයේ දී විමුක්තියක් හැටියට පත් වන්නේ ය. එසේම කවරකු එය ආරක්ෂා කර නොගනී ද ඔහුට එය ආලෝකයක් ලෙස හෝ සාක්ෂියක් ලෙස හෝ කියාමා දිනයේ දී විමුක්තියක් ලෙස හෝ



නොවන්නේ ය. කියාමා දිනයේ දී එවැන්නන් "කාරූන්, ෆිර්අවුන්, හාමාන්, උබයි බින් කලෆ් වැනි අය සමග සිටී" යැයි නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාණෝ පැවසූහ (අහ්මද්).

ඉහතින් සඳහන් අල් කුර්ආන් වැකියෙන් හා නබි වදන් මගින් සලාතය අත්හැරීම නිසා ඇතිවන විපාක ගැන මනාව ගෙන හැර දැක්වේ.

එනිසා අපි කිසිදු හේතුවක් නිසා සලාතය කෙරෙහි නොසැලකිලිමත් නොවිය යුතුය. එමෙන්ම  අපගේ වගකීමක් වන සලාතය හැම විටම ජමාඅතය (සාමූහික සලාතයත්) සමග ඉටු කිරීමට පුරුදු විය යුතු ය. මක් නිසා ද යත් තනිව ඉටුකරන සලාතයට වඩා සාමූහික වශයෙන් ඉටුකරන සලාතය (27) විසිහත් ගුණයකින්  වැඩි ආනිසංස සහිත බව නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා වදාරා ඇත. (බුහාරි, මුස්ලිම්, තිර්මිදි)

සලාතය මගින් අපි අල්ලාහ්ට අවනත වන්නෙමු. ඔහුට සමීප වන්නෙමු. ඔහු නැමදීමේ පුරුද්ද ඇති කර ගන්නෙමු. අපගේ අවශ්‍යතාවයන් වෙනුවෙන් ඔහුගෙන් ඉල්ලා සිටීමටත්, අපගේ පව් කමා කරන ලෙස ආයාචනා කිරීමටත් සලාතය අවස්ථාවක් වන්නේ ය. තව ද, සලාතය මගින් අපි අල්ලාහ් මතක් කරන්නෙමු. ඔහු අපට ලබා දී ඇති දායාදයන් සඳහා ස්තුතිය පුද කරන්නෙමු.

සලාතය ඉටු කිරීම සඳහා අපි දිනකට පස් වතාවක් වුලූඃ කරන්නෙමු. මේ නිසා අපගේ සිරුරේ බාහිර අවයව පිරිසිදු වන්නේ ය. ඒ සමග ම සිත ද පිරිසිදු වන්නේ ය. මේ නිසා ශාරීරික හා මානසික සෞඛ්‍යය ඇති වන අතර පාපයන්ගෙන් ද මිදෙන්නේ ය.

එනිසා, "ස්වර්ගයේ යතුර" යැයි නබි සල්ලල්ලාහු අලයිහිවසල්ලම් තුමාණන් විසින් සුවිශේෂ කර දක්වන ලද සලාතය අපි නිසි කලට වෙලාවට අඩුපාඩුවක් නොමැතිව අඛණ්ඩව හා විධිමත් ව ඉටු කරමු. එමගින් අල්ලාහ්ගේ සමීපතාවය හා දයාව දෙලොවෙහි ම ලබා ගනිමු.

අභ්‍යාස

1. වරහන් තුළ ඇති වඩාත් නිවැරදි පිළිතුරට යටින් ඉරක් අඳින්න.

   අ) මුස්ලිම් දරුවකු සලාතය ඉටු කිරීම පටන් ගත යුත්තේ වයස අවුරුදු (පහළව, හත, දහය) සිට ය.

   ආ) කුර්ආනයෙන් මුස්ලිම් භක්තිකයෙකු වෙන්කර දක්වන්නේ ( දික්ර්, සලාතය, සව්මය) ය.

   ඉ) දිනකට (වරක්, අටවරක්, පස්වරක්) සලාතය ඉටු කිරීම අනිවාර්ය ය.

   ඊ) අල්ලාහ් සමග ඉතා සමීපව කතා කිරීමේ අවස්ථාව (සලාතය ඉටු කරන අවස්ථාවේ, සකාත් දෙන අවස්ථාවේ, අදාන් කියන අවස්ථාවේ) ලැබෙන්නේ ය.

   උ) ස්වර්ගයේ යතුර වනුයේ (හජ් ඉටු කිරීම, භාරවීම, සලාතය ඉටු කිරීම ය.)

2. සලාතය පිළිබඳ අල්කුර්ආන් වැකියක් ද හදීසයක් ද ලියන්න.

# 10

# සලාතය 2

සලාතය අනිවාර්ය වගකීමක් බව පසු ගිය පාඩමේ දී දැන ගත්තෙමු. අපි දිනපතා ඉටුකරන සලාතය පිළිගනු ලැබීමට නම් සලාතයට අදාළ ෂර්ත් හා ෆර්ල් ආදිය හරියාකාරව අනුගමනය කළ යුතු ය. එසේම සලාතය නිෂ්ඵල කළ හැකි මුබ්තිලාත් පිළිබඳ ව දැන අපි ඒවායින් වැළකී සිටිය යුතු ය. මෙම පිළිවෙත අනුගමනය නොකර ඉටුකරන සලාතයෙන් කිසි දු ඵලක් අත් නොවන බව අප පැහැදිලිව දැන ගත යුතු ය.

## සලාතයේ ෂර්තයන්

ෂර්ත යන්නෙහි අර්ථය කොන්දේසි යන්න ය. සලාතය පිළිගනු ලැබීමට නම් මෙම කොන්දේසි සියල්ල අනුගමනය කළ යුතු ය. ඉන් එකක් හෝ අතපසු වූවද සලාතය පිළිගනු ලබන්නේ නැත. ඒවා පහත දැක්වේ.

1. මුස්ලිම්වරයෙකු වීම.
2. තම්යීස් හෙවත් යමක් වෙන්කර අවබෝධ කර ගැනීමේ වයසේ අයකු වීම.
3. පිරිසිදු ව සිටීම (නෑම අනිවාර්ය වූ අය නෑම, වුලූඃ ඉටු කර නොමැති අය වුලූඃ කර ගැනීම)
4. සලාතය ඉටු කරන ස්ථානය, ඇඳ සිටින ඇඳුම් සහ සිරුර නජීස්වලින් තොර ව පිරිසිදුව තිබීම.
5. අව්රතය ආවරණය කර තිබීම (ආවරණය කළ යුතු පෙදෙස් ආවරණය වී තිබීම)
6. කිබ්ලාවට මුහුණලා සලාතය ඉටු කිරීම.
7. සලාතය තමාට අනිවාර්ය වූවක් යැයි වටහා ගෙන තිබීම

8. සලාතයේ වෙලාව පැමිණ තිබීම.

9. සලාතය ඉටු කළ යුතු ආකාරය දැන සිටීම.

10. ෆර්ල හා සුන්නතය වෙන් කොට දැන සිටීම.

ඊළඟට සලාතයේ ෆර්ල් තිබේ ද? ඒවා මොනවා ද? කියා බලමු.

**සලාතයේ ෆර්ලයන් 19 කි.**

1. අල්ලාහ් වෙනුවෙන් සලාතය ඉටු කරමියි සිතෙහි ස්ථිර ලෙස අධිෂ්ඨාන කර ගැනීම. (නිය්යතය)
2. "අල්ලාහු අක්බර්" යනුවෙන් ආරම්භක තක්බීරය (තහ්රීමා) කීම.
3. සිටගෙන සලාතය ඉටු කළ හැකි අය සිටගෙන සලාතය ඉටු කිරීම.
4. බිස්මිල්ලාහ් සමග සූරතුල් ෆාතිහාව පාරායනය.
5. රුකූඋ කිරීම.
6. එහි රැඳී සිටීම.
7. ඉඃතිදාලයට පැමිණීම.
8. එහි රැඳී සිටීම.
9. පළමු සුජූදය ඉටු කිරීම
10. එහි රැඳී සිටීම
11. මැද හිඳුමට පැමිණීම.
12. එහි රැඳී සිටීම.
13. දෙවන සුජූදය ඉටු කිරීම.
14. එහි රැඳී සිටීම.
15. අවසාන අත්තහියියාත් පාරායනය සඳහා රැඳීම.
16. එහි අත්තහියිය්යාතය පාරායනය.
17. අත්තහියියාතයේ දී නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා කෙරෙහි සලවාත් පැවසීම.

18. පළමු සලාම් කීම

19. ඉහත සියල්ල අනුපිළිවෙළින් ඉටු කිරීම

සලාතයේ පරිපූර්ණ ඵල ප්‍රයෝජන ලබා ගැනීමට නම්, සලාතයට අදාළ සුන්නත ද පිළිපැදිය යුතු ය.

සලාතයට අදාළ සුන්නතයන් වචන හා සම්බන්ධ වූ ඒවා ද ක්‍රියා හා සම්බන්ධ වූ ඒවා ද ලෙස ආකාර දෙකකි.

### වචන හා සම්බන්ධ සුන්නත්

1. දුආඋල් ඉස්තිෆ්තාහ් (වජ්ජහ්තු) පාරායනය
2. සූරාහ් උසුරන විට ඉස්තිආදා (අඌදු බිල්ලාහි) පාරායනය
3. සූරතුල් ෆාතිහාව අවසානයේ ආමීන් කීම
4. පළමු රකඅත් දෙකෙහි ම ෆාතිහාවෙන් පසුව වෙනත් සූරාවක් හෝ ආයත් කිහිපයක් හෝ පාරායනය කිරීම
5. රුකූහිදී "සුබ්හාන රබ්බියල් අලීම් වබිහම්දිහි" යන තස්බීහය පාරායනය
6. ඉඃතිදාල්හි දී අල්ලාහ්ව ප්‍රශංසා කිරීම
7. සුබ්හු සලාතයේ දෙවන රකඅතයේ කුනූත් පාරායනය කිරීම
8. සුජූද්හිදී "සුබ්හාන රබ්බියල් අඃලා වබිහම්දිහි" යන තස්බීහය පාරායනය කිරීම
9. මැද ඉඳුමේදී "රබ්බිග්ෆිර්ලී" යැයි ආරම්භවන දුආව පාරායනය කිරීම.
10. රකඅත් දෙකකට වැඩි සලාතයක දී දෙවන රකඅතයේ දී අත්තහියියාතය සමග සලවාතය පාරායනය කිරීම.
11. අවසාන අත්තහියියාතයේ දී නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ පවුලේ අය කෙරෙහි සලවාතය පාරායනය කිරීම.

## ක්‍රියාවන් හා සම්බන්ධ සුන්නතයන්

1. ආරම්භක තක්බීරය කියනා අවස්ථාවේත් රුකූවලට යන අවස්ථාවේත් නැවත සිටගන්නා විටත් පළමු අත්තහියියාතයේ සිට සෘජු අවස්ථාවට එන විටත් අත් දෙකණතෙක් එසවීම.

2. සිටගන්නා අවස්ථාවේ දී වමත මත දකුණත තබා අත් බැඳීම.

3. සජදා කරන ස්ථානයේ බැල්ම යොමු කර තබා ගැනීම.

4 සිටගන්නා අවස්ථාවේ දී දෙපා අතර ප්‍රමාණවත් පරතරයක් පවත්වා ගැනීම.

5. රුකූඋ අවස්ථාවේ දී ඇඟිලි ඇත් කර තබා අත්ලෙන් දණහිස අල්ලාගෙන කොන්ද සහ හිස ඒකාකාරීව තිබෙන සේ නැමී සිටීම.

6. සුජූදයේ දී අවයව සියල්ල පොළොවේ සෘජුව ම ස්පර්ශ වන සේ තබා තැබීම.

7. පිරිමින් සුජූදයේ දී දෑත් ඉල සමග ද බඩ කලවා සමග ද ස්පර්ශ නො වන සේ හිඩැස තැබිය යුතුය. තවද දෙපා යාවනසේ තබා ඇඟිලි තුඩු කිබ්ලාව දෙසටත් ඇතුළු පැත්ත පොළොව ස්පර්ශ වන සේත් තබා ගත යුතු ය.

8. සුජූද් දෙක අතර ද පළමු අත්තහියියාතයේ ද "ඉෆ්තිරාෂ්" ඉරියව්වේ වාඩි වී ද අවසාන අත්තහියියාතයේ තවර්රුක් ඉරියව්වේ වාඩි වී ද සිටිය යුතුයි.

9. වාඩි වී සිටිනාවිට දී දෑත් ඇත් කර, ඇඟිලි ලංකර තබා ගත යුතු ය. අත්තහියියාතයේ ද දකුණු අතේ ඇඟිලි නවා, දබරැගිල්ල කෙළින් කර තැබීම.

10. පළමු සලාම් කියන අවස්ථාවේ දකුණු පැත්තට ද දෙවන සලාම් කියන විට වම් පැත්තට ද මුහුණ හැරවීම.

ඉහත කරුණු සැලකිල්ලට ගෙන සලාතය ඉටු කරන අවස්ථාවේ දී අනිවාර්යයෙන් ම සමහර කරුණු වළක්වා ගත යුතු ය. මක් නිසා ද යත් එවැන්නක් සිදුවූවා නම් සලාතය කඩ වන්නේ ය. ඒවා මුබ්තිලාත් (සලාතය බිඳවන කරුණු) නම් වේ.

## සලාතය බිඳවන කරුණු (මුබ්තිලාත්)

1. සලාතය ඉටු කරන අවස්ථාවේ සලාතය අත්හරිමු දැයි සිතීම
2. සලාතයේ නැති ක්‍රියාවක් දිගින් දිගට ම තුන් වතාවක් කිරීම.
3. අල්කුර්ආන් පාඨ හෝ දුආවක් නොවන සලාතය හා සම්බන්ධ නැති අන් යමක් පාරායනය
4. උවමනාවෙන් ම කැහීම හෝ කතා කිරීම
5. හඬ නගා සිනාසීම සහ උවමනාවෙන් ම ඇඬීම
6. සව්මය බිඳවන කිසියම් කටයුත්තක යෙදීම
7. කිබ්ලාව දෙසින් මුහුණ වෙනත් පැත්තකට හැරවීම
8. ෆර්ල් වූ ක්‍රියා උවමනාවෙන් ම වැඩිපුර කිරීම
9. අව්රතය පෙනෙන  අවස්ථාවේ එය නොසලකා සිටීම
10. ෆර්ලයක් හෝ ෂර්තයක් හෝ උවමනාවෙන් ම අතහැරීම

එහෙයින් සලාතයේ ෂර්තය ෆර්ල් පිළිබඳ සැළකිළිමත් වෙමින් සුන්නතයන්ට වැදගත්කමක් ලබා දී හා මුබ්තිලාතයන්ගෙන් වැළකී සලාතය නිවැරදි ව ඉටු කිරීමට අවධානය යොමු කරමු. අල්ලාහ් අපගේ සලාතය සම්පූර්ණ කර සියලු ආනිශංස ලබා දෙත්වා.

අභ්‍යාස

පහත සඳහන් ඒවා සලාතයේ ෂර්ත, ෆර්ල්, සුන්නත්, මුබ්තිලාත් යනාදියෙන් කුමන වර්ගයට අයත් දැයි තිත් ඉර මත ලියන්න.

1. මුස්ලිම්වරයෙකු වීම. ........................................

2. සූරතුල් ෆාතිහාව පාරායනය. ........................................

3. වුලූඃ ඉටු කර තිබීම. ........................................

4. අවසාන අත්තහියියාතය පාරායනය. ........................................

5. සලාතය ඉටු කරන අවස්ථාවේ දී ආහාර ගැනීම. ........................................

6. අව්රතය ආවරණය කිරීම. ........................................

7. සුජූද් කිරීම. ........................................

8. සලාම් කියන අවස්ථාවේ දකුණු පැත්තට සහ වම් පැත්තට මුහුණ හැරවීම.

9. ෆර්ල් වන ක්‍රියාවක් උවමනාවෙන් ම අතහැරීම. ........................................

10. සලාතය ඉටු කළ යුතු වෙලාව දැන සිටීම. ........................................

11. "අල්ලාහු අක්බර්" යන ආරම්භක තක්බීරය කීම. ........................................

12. සූරතුල් ෆාතිහාවෙන් පසුව ආමීන් කීම ........................................

# 11

# සව්මය රකිමු

"විශ්වාසවන්තයනි! ඔබ දේව බැතිබිය ඇති අය බවට පත් වීම සඳහා ඔබට පෙර සිටි අයට සව්මය නියම කළාක් මෙන්, ඔබට ද සව්මය අනිවාර්ය කර ඇත" (2:183)

ඉහත සඳහන් අල් කුර්ආන් වැකිය මගින් සව්මය ඉස්ලාමයේ ප්‍රධාන යුතුකම්වලින් එකක් වන බව පැහැදිලි වන්නේ ය. ඉස්ලාමීය අවුරුදු ක්‍රමය අනුව  නවවන මාසය වන රමළාන් මාසයේ දී මුස්ලිම්වරු ෆර්ල් වූ මෙම සව්මය රකිති. මෙම මාසයේ දී සව්මය රකින සෑම මුස්ලිම්වරයකු ම ෆජ්ර් උදාවන අවස්ථාවේ සිට ඉර බැස යන මොහොත තෙක්  කිසිඳු  ආහාරයක් හෝ පානයක් නො ගෙන සව්මය බිඳවන කාර්යයන්හි නොයෙදී  තමාව පාලනය කරමින් සව්මය ඉටු කළ යුතු ය.

**සව්මයේ ෆර්ලයන් දෙකකි.**

1. "අල්ලාහ් වෙනුවෙන් සව්මය ඉටු කරන්නෙමි" යන සිතුවිල්ල (නියියතය) සිතෙහි අදියන් කර ගැනීම.
2. සහර් අවසන් වූ අවස්ථාවේ සිට සව්මය අවසන් වන්නාවූ එනම් ඉර බැස යන මොහොත තෙක් සව්මය බිඳවන කිසි දු කටයුත්තක නො යෙදී සිටීම.

නිසි වයසට එළෙඹි නිරෝගී මුස්ලිම්වරුන් සියල්ලන් ම සව්මය රැකීම අනිවාර්ය වන්නේ ය. එසේම සාධාරණ හේතුවක් නොමැති ව සව්මය නොරැක සිටීම ද වරදකි.

සව්මයේ ප්‍රධාන අරමුණ  බිය බැතිකම තහවුරු කිරීම වුව ද එමගින් ශාරීරික සෞඛ්‍යය ළඟාකර ගැනීම, සිත සංවරකර ගැනීම, අසීරුතාවයන් විඳ දරා ගැනීම, සකසුරුවම, අන් අයගේ දුක වටහා ගැනීම, දුප්පතුන්ගේ කුසගින්න වටහා



ගැනීම, සදකා දීම වැනි අවශ්‍යතා ද මනාව ඉටු කෙරේ. සව්මය රකින කාලය තුළ හලාල් වූ අනුමත දේවලින් වැළකී සිටීමට පුරුදු වීමෙන්, හරාම් වූ කරුණු ජීවිතය පුරාම වළක්වා ගැනීමේ චිත්ත ධෛර්යය ළඟා කරගැනීමේ පුහුණුව ලබා දෙන්නේ ය. මෙම මාසයේ දී දුආවන් පිළිගනු ලබන්නේ ය. ස්වර්ගය අලංකාර ලෙස සරසනු ලබන්නේ ය. නිරය වසනු ලබන්නේ ය. කලබල ඇතිකරන ෂෛතාන්වරුන් පාලනය කර දම්වැල් දමනු ලබන්නෝ ය.

එහෙයින් මෙම මාසයේ අප යහක්‍රියා කර යහඵල අත්කර ගැනීමට වෑයම් කළ යුතු ය. අප වෙනුවෙන්, අපගේ සමාජය වෙනුවෙන් හා අපගේ රට වෙනුවෙන් අල්ලාහ්ගෙන් දුආ කළ යුතුය. සහර් වේලාවේ දී තහජ්ජුද් සලාතය ඉටු කළ යුතුය. සව්මය නිමා කරන වේලෙහි සව්මයෙහි යෙදුන අසල් වැසියන්, යහළුවන් නෑදෑයින් අප සමග එකතු කරගත යුතුය. වැඩි වැඩියෙන් පුණ්‍ය කටයුතුවල යෙදිය යුතුය. මක්නිසා ද යත් මෙම මාසයේ දී සුළි සුළඟක් මෙන් නබිතුමා සදකා දීමෙහි නියැලුණු බව ඉස්ලාමීය ඉතිහාසය අපට පවසන්නේ ය.

රමළාන් මාසයේ ''ලෛලතුල් කද්ර්'' යැයි රාත්‍රියක් ඇත. එය මාස දහසකට වඩා උතුම් ය. අල් කුර්ආනය පහළ කරනු ලැබුවේ මෙම මාසයේ දී ය. එනිසා අප මෙම මාසයේ අල් කුර්ආනය වැඩි වැඩියෙන් පාරායනය කළ යුතු ය. එහි මාර්ගෝපදේශයන් වටහා ගෙන දායාදයන් වැඩි වැඩියෙන් ලබා ගැනීම කෙරෙහි යොමු විය යුතු ය.

තවද විශේෂයෙන් ම පාප ක්‍රියාවලින් වැළකී සිටිය යුතු ය. අනවශ්‍ය කතාබහෙන් හා අනවශ්‍ය රණ්ඩු දබරවල පැටලී අපගේ සව්මයේ අගය අඩු කරගැනීමෙන්

වැළකී සිටිය යුතුයි. කවරකු හෝ බැන වදින්නේ නම් හෝ ගැටුමට සැරසුණේ "නම් මම සව්මය රකින්නෙක්මි" යැයි කියමින් ඉවත් ව සිටිය යුතු බව ඉස්ලාමය අවධාරණය කරයි.

"කවුරු අසභ්‍ය වචනවලින් හා ඒ හා සම්බන්ධ ක්‍රියාවලින් වැළකී නොසිටී ද එවැන්නකු නොකා නොබී සිටීමෙන් අල්ලාහ්ට කිසිදු අවශ්‍යතාවක් නැතැයි" නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වදාරා ඇත. (බුහාරි)

සව්මය පළිහකැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වදාළ පරිදි පාපී ක්‍රියාවලින් වැළකී සිටීමටත්, ෂෛතාන්ගේ පෙළඹ වීම් නිසා ඇති වන හානිවලින් ආරක්ෂා වීමටත් මෙම පළිහ අපට උදව් වන්නේ ය. මෙසේ දෙලොවෙහි ම අපරිමිත ප්‍රයෝජනයක් ලබා දෙන ෆර්ල් වූ සව්මය මෙන් ම සුන්නත් වූ සව්මය ද රැකීම වැදගත් ය. මක් නිසා ද යත් අපගේ ෆර්ල් වූ සව්ම්වල ඇති වන අඩුපාඩුකම් එමගින් පූරණය කරන අතර අල්ලාහ් සමග ඇති අපගේ සමීපතාවයද වැඩි වන්නේ ය.

**අභ්‍යාස**

**කෙටි පිළිතුරු සපයන්න**

1. සව්මයේ ෆර්ල් කීයක් වේ ද? ඒවා මොනවා ද?
2. සව්මයේ වැදගත්කම දක්වන අල් කුර්ආන් වැකියක් සඳහන් කරන්න.
3. සව්මයේ මූලික අරමුණ සඳහන් කරන්න.
4. සව්මයේ වැදගත්කම දක්වන හදීසයක් ලියන්න.
5. රමළානයේ ඇති සුවිශේෂ රාත්‍රිය කුමක් ද? එහි වැදගත්කම කුමක් ද?

# 12

# දෙමාපියන් රැක බලා ගමු

رَبِّ ارْحَمْهُمَا كَمَا رَبَّيَانِي صَغِيرًا

**මාගේ රබ්! (පරමාධිපතියාණනි) බාලවියේ ඔවුන් දෙදෙනා මා (කාරුණිකව සහ ආදරයෙන්) හදා වඩාගත් ආකාරයෙන්ම ඔවුන් දෙදෙනාට දයාන්විත වනු මැනව.**

**17 ; 24**



එකමත් එක කාලයක මිනිසුන් තිදෙනෙක් දිගු ගමනක් ගියහ. අතරමගදී රෑ බෝවූයෙන් කන්දක පාමුල තිබූ ගුහාවක මේ තිදෙනාම ලැගුම් ගත්හ. රාත්‍රියේ ලොකු කළුගලක් පෙරළී ඇවිත් ගුහාවේ දොරටුව වසා ගත්තේය. පසු දිනය ද උදාවිය. ගුහාවේ විවරය වැසී තිබෙනු දුටු ඔවුහු එය අයින් කළ නොහැකි එකක් බව වටහාගෙන තිගැස්සුණෝය. මෙම අකරතැබ්බයෙන් ගැලවීම සඳහා අල්ලාහ්ගෙන් ප්‍රාර්ථනා කිරීමට ඔවුහු තීරණය කර ගත්හ. තිදෙනාම තමන් කළ කුසල් (අමල්) වලින් ඉතාමත් හොඳම යහක්‍රියාව මතක් කර ප්‍රාර්ථනා කිරීමට තීරණය කර ගත්හ.

පළමු දෙදෙනා තමන් කළ යහ ක්‍රියාවන් මෙනෙහි කර ප්‍රාර්ථනා කිරීමෙන් පසු ඔවුන්ගෙන් තුන්වැන්නා "යා අල්ලාහ්! මට වයෝවෘද්ධ දෙමව්පියන් සිටිනවා.

සෑම රාත්‍රියකම මා ඔවුනට පානය කිරීමට කිරි දෙනවා. මගේ දරුවන්ට කිරි දෙන්නේ දෙමව්පියන්ට දුන් පසුව ය. දිනක් මා නිවසට පැමිණෙන විට රෑ බෝ වී තිබුණා. එවිට ඔවුන් දෙදෙනා දැඩි නින්දේ පසු වුණා. ඔවුන්ගේ නින්දට බාධා කරන්නට මට කැමැත්තක් තිබුණේ නෑ. එසේම ඔවුනට පෙර මගේ දරුවන්ට කිරි පානය කිරීමට දෙන්නට මම අකැමති වුණා.

එනිසා ඔවුන් නින්දෙන් අවදි නොකර ඔවුන්ගේ දෙපාමුල මා බලා හිටියා. මගේ දරුවන් මගේ පාමුල පානය කිරීම සඳහා කිරි ඉල්ලා හඬමින් හිටියා. ඔවුන් හඬන හඬ ඇසී මගේ දෙමව්පියන් ඇහැරුණා.

ඉන් පසු ඔවුන් කිරි පානය කළා. යා අල්ලාහ්! මා මෙසේ කළේ ඔබගේ තෘප්තිය උදෙසා ය.

එනිසා මෙම කළුගල ඉවත් කර අපට පිටත් වීමට මග පාදා දෙනු මැනවැ යි ප්‍රාර්ථනා කළේ ය. එලෙස ම අනෙක් දෙදෙනා ද තමන් කළ යහ ක්‍රියාවන් මෙනෙහි කරමින් ප්‍රාර්ථනා කළෝය.

එවිට එම ගල ගුහා දොරටුවෙන් ඉවත් වූ අතර එම තිදෙනා ගුහාවෙන් පිට ව ගියෝය. (බුහාරි, මුස්ලිම්)

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සහාබාවරුන්ට පැවසූ මෙම සිද්ධිය, එම පුද්ගලයා දෙමව්පියන්ට කළ උපකාරයේ ඵලය මනාව ගෙනහැර දක්වයි. මෙහි දී තම දරුවන්ට වඩා දෙමව්පියන්ට ප්‍රමුඛතාව දැක් වූ එම පුද්ගලයාගේ ප්‍රාර්ථනාවට අල්ලාහ් වහා ම පිළිතුරු දැක්වීම සුවිශේෂීය. අල්ලාහ්ගේ තෘප්තිය හිමිවන්නේ දෙමව්පියන්ගේ තෘප්තිය ලැබුණ හොත් පමණි. ඔහුගේ ප්‍රාර්ථනාව වහා ම පිළිගනු ලැබීමටත් අනතුරෙන් ඉවත් වීමටත් හේතුව එය බව මෙම සිද්ධියෙන් පැහැදිලි වන්නේ ය.

මිනිසකු කරන යහක්‍රියාවන්ගෙන් දෙමව්පියන්ට සැළකීම වැදගත් වන්නේ ය. එය අල්ලාහ්ගේ තෘප්තිය ලැබීමට හේතුවක් වන බව පහත සඳහන් හදීසය පැහැදිලි කරන්නේ ය.

“තම දෙමව්පියන් තෘප්තිමත් කළ පුද්ගලයා අල්ලාහ් තෘප්තිමත් කළ අයෙක් වන්නේ ය. දෙමව්පියන් තෘප්තිමත් නොකළ පුද්ගලයා අල්ලාහ් තෘප්තිමත් නොකළ පුද්ගලයකු වන්නේ ය” යැයි නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා පවසා ඇත. (බුහාරි)

දෙමව්පියන්ට යහපතක් කිරීම අල්ලාහ්ගේ දයාව ලබා දීමට හේතුවක් බව

පහත සඳහන් හදීසය මගින් පැහැදිලි වන්නේ ය.

"වරක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගෙන් අල්ලාහ්ට ඉතාම ප්‍රිය (අමල්) යහ ක්‍රියාව කුමක් දැයි අසන ලදී. එයට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ "වෙලාව නොවරදවා සලාතය ඉටු කිරීම "යැයි පැවසූහ. එයින් පසු කුමක් දැයි ඇසූ විට දෙමව්පියන්ට සැලකීම යැයි පැවසූහ. (බුහාරි, මුස්ලිම්)

අල්ලාහ්ට කීකරු වූ මුස්ලිම්වරයකු දෙවනුව කළ යුත්තේ තම දෙමව්පියන්ට සැළකීම බව අල් කුර්ආනය අවධාරණය කරන්නේ ය." දෙමව්පියන්ට සැලකීම අල්ලාහ් නියමයක් කර ඇත්තේ ය"(17:23)

කිසිවක් නොදත්, කිසිවක් කිරීමට ශක්තියක් නොමැති ව මෙලොව බිහි වන දරුවා රැක බලාගෙන අවශ්‍ය ආහාර පාන ලබා දෙමින්, දැනුම ලබා දෙමින් දෙමව්පියන් විසින් හදා වඩා ගනු ලැබේ. මේ සඳහා අති විශාල කැප කිරීම් කරති. දෙමව්පියන් මෙසේ අපට කළ කැප කිරීම්වලට ප්‍රතිඋපකාරයක් කිරීමට මෙලොව දී කිසිවකුටත් හැකි වන්නේ නැත. එහෙයින් ඒ වෙනුවෙන් දෙමව්පිය න්ට ප්‍රතිඋපකාර කිරීම ඉස්ලාම් දහම ඉතා දැඩි ලෙස අවධාරණය කරයි. මේ අනුව කෙනෙක් දෙමව්පියන්ට කළ යුතු යුතුකම් හා උදව් උපකාර පහත අයුරින් ගොනු කර දැක්විය හැකිය.

1. කෘතඥතාවය දැක්වීම.

2. දෙමව්පියන් වෙනුවෙන් ප්‍රාර්ථනා කිරීම.

3. විනීතව කතා කිරීම හා ඔවුන්ගේ කීමට සවන් දීම.

4. ආදරයෙන් හා කරුණාවෙන් ඔවුන් සමග කටයුතු කිරීම.

5. යමක් කිරීමට පෙර දෙමව්පියන්ගෙන් අවසරය ලබා ගැනීම.

6. දෙමව්පියන්ගේ මිතුරන් සහ නෑදෑයින්ට සැලකීම.

මේ හැර දෙමව්පියන් රිදවීම මහා පාපයක් බව ඉස්ලාම් අවධාරණය කරයි. දෙමව්පියන් රැකබලා ගැනීම ඊමානයට පමණක් දෙවන වන වැදගත් කරුණ ක් ලෙස සළකන ඉස්ලාමය ඔවුනට අපහාස කිරීම, ඔවුන්ට අවනත නොවීම, ඔවුනට බැනවැදීම යනාදිය ෂිර්කයට අනතුරුව මහා පාපයක් වශයෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් අවධාරණය කර ඇත්තාහ.

අනෙකුත් පාපී ක්‍රියාවල යෙදෙන්නන්ට දඬුවම් පැමිණවීම කියාමාව තෙක් පමා කරන අල්ලාහ් දෙමව්පියන් රිදවන්නාට මෙලොවෙහි දී ම දඬුවම් පමුණු වන්නේ ය.

"අල්ලාහ් තආලා දෙමව්පියන්ට අවමන් කිරීමේ වරදට හැර අන් වැරදි සඳහා දඬුවම තමා කැමැති පරිදි කියාමාව තෙක් පමා කරන්නේ ය. එහෙත් මෙම වරදට දඬුවම මරණයට පෙර මෙලොවෙහිදීම ලබා දෙන්නේ ය" යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (බුහාරි)

එහෙයින් අපි අපගේ දෙමව්පියන්ට ගරු බුහුමන් දක්වමින් ද, ඔවුනට ඇප උපස්ථාන කිරීමෙන් ද මෙලොවෙහි හා පරලොවෙහි අල්ලාහ්ගේ තෘප්තිය ලබා ගැනීමට අධිෂ්ඨානය කර ගනිමු.

**ක්‍රියාකාරකම**

දෙමව්පියන්ට ගෞරව කරමු යන මැයෙන් දේශනයක් පවත්වන්න.

# 13

# ගුරුවරුන්ට සළකමු




ජාහිලියියා නමින් ඒ යුගය විය
ලොව මිනිසා අඳුරෙහි පසුවිය
නැණ පහන දල්වනු පිණිසමය
ලොව වැඩියේ අප නබිතුමන්මය

නබිවරු හැර ගියේ ලොවේ
රන් රිදී හෝ අන් දෙයක් නොවේ
දැනුමයි ප්‍රඥාවයි මෙලොවේ
සම්පත් ලෙස ගෙන හැර පෑවේ

දෑසෙහි එළිය ලැබුවෝ
ලද්දෝය දැනුම ලැබුවෝ
විදුන්ගේ එබස් ඇසුවෝ
වන්නෝය සොඳුරු දරුවෝ

තමන් දැනුම ලැබ නොමද
දුනහොත් අන් අයට බෙද
ලබයි දායාද හිමිගෙන් සැමද
කීහ නබිතුමන් හොඳින් පහද

දැනුම ලබා නැණවත් ව වෙසෙන්නා
නබි පරපුර වෙත උරුම කියන්නා
ඒ ලෙස නබි උතුමා පවසන්නා
එය පිළිපැද අප පෙරටම යන්නා



සිසුනට නිබඳව දැනුම බෙදා දෙන
මවුනගේ ගුණ නැණ නිතරම වඩන
රට දැය වැඩුමට නිති මග පෙන්වන
උතුමෙකි ගුරුවරයා යැයි නම් වන

දියෙහි පිහිනා යන මත්සයනුත්
අහසෙහි පියඹා යන පක්ෂියනුත්
පොළොවෙහි දුවනා සිව්පාවනුත්
මලක්වරු කියනා සුර දූතයිනුත්

පතයි සැම දෙන දැනුම ලැබීමට
විදුන් වන අප ගුරු උතුමන් හට
පතමු අපත් එලෙසින් ම ඔවුන් හට
ඉස් මුදුනින් ම සළකා ඔවුනට

දනී ද ජාති ආගම් කුල භේදා
විදුන් වන අප ගුරුන් කිසි දා
දෙමින් හැකි ගරු බුහුමන් සැම දා
පතමු සැම රහ්මත් මුළු හදින් නිබඳා

අල්ලාහ් අප වෙත සතුටින් දෙන ලද
මහගු තිළිනයකි ගුරුවරු හැම සඳ
ඔවුනට බැති සිත සුදමින් නිසි ලෙස
අයදිමු ගුරු කැල රැක දෙනු හැම සඳ

අභ්‍යාස

**පහත සඳහන් අදහස් නිවැරදි නම් 'හ' යැයි ද වැරදි නම් 'වැ' යයි ද සඳහන් කරන්න.**

1. ඉස්ලාමයේ ප්‍රථම ගුරුවරයා මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ය. ( )
2. නබිවරුන් මෙලොව හැර ගිය දේපල රන් රිදී හා ද්‍රව්‍ය වන්නේ ය. ( )
3. අල් කුර්ආනය අධ්‍යාපනය වර්ණනා කරන්නේ දැස් කියා ය. ( )
4. නබිවරුන්ගෙන් පැවත එන්නන් විද්වතුන් යනු කුර්ආනයේ අදහසයි. ( )
5. ගුරුවරුනට ගරුබුහුමන් කිරීම යහපත් ආනිසංස ගෙන දෙයි. ( )
6. ගුරුන් වෙනුවෙන් ප්‍රාර්ථනා කිරීම ඔවුන්ට ගරු කිරීමක් වන්නේ නැත. ( )
7. ලොව ශ්‍රේෂ්ඨ පුද්ගලයා ධනවතා ය. ( )

ක්‍රියාකාරකම

මෙම ගීතය තාලයට ගායනා කරන්නට කියා දෙන්න.

# 14

# දිව රැක ගනිමු

දිනක් සහබාවරුන් සමග නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ වාඩි වීය. එම සභාවේ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ හිතමිත්‍ර අබූබක්ර් රළියල්ලාහු අන්හු තුමා ද වූයේ ය එහි ආ පුද්ගලයෙක් අබූ බක්ර් තුමාට දැඩි ලෙස දොස් කියන්නට වූයේ ය. අබූබක්ර් රළියල්ලාහු අන්හු තුමා කිසිව ක් නොකියා නිශ්ශබ්ද ව සිටියහ. එම පුද්ගලයා දෙවන වරට ද නබි තුමාට බැන වදින්නට වූයේ ය. එවිට ද එතුමාණෝ කිසිවක් නො කියා සිටියහ. එම පුද්ගලයා තෙවන වරට ද බැණ වදින්නට වූයේ ය. එවිට අබූබක්ර් රළියල්ලාහු අන්හු තුමා එයට විරෝධය පෑහ. එවිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා නැගිට එතැනින් පිට වී ගියෝ ය. එය දුටු අබූබක්ර් රළියල්ලාහු අන්හු තුමා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පසුපසින් ගොස් "අල්ලාහ්ගේ දූතයාණනි! ඔබ තුමා සභාවෙන් නැගිට ගියේ මා සමග ඇති වූ කේන්තිය නිසා ද? යැයි ඇසූහ. එයට නබි තුමා එම පුද්ගලයා ඔබට බැනීමට යොදාගත් වචන අහසෙන් පහළ වූ මලාඉකාවරු අසත්‍ය කරමින් සිටියෝ ය. ඔබ ඔහුට පිළිතුරු දීමට පෙළඹුණු විට එම ස්ථානයට ෂයිතාන් ද පෙනී සිටින්නට විය. ෂයිතාන් සිටින ස්ථානය නිසා මම එම ස්ථානයෙන් බැහැර වූයෙමි" යි පිළිතුරු දුන්හ. (අබූ දාවූද්)

වරක් ආයිෂා රළියල්ලාහා අන්හා තුමිය මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සමග වාඩි වී සිටි අවස්ථාවක එතැනට සෆියියා රළියල්ලාහු අන්හා තුමිය ආවාය. ඇය දුටු ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය සෆියියා මිටි අයෙකැයි සමච්චල් කරන්නට වූවා ය. ඊට සවන් දුන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය දෙස බලා, "ආයිෂා ඔබ භාවිත කළේ මහ මුහුදට දැමුව ද එය ද අපවිත්‍ර කරන තරම් නරක වචනයකි "යි කියා තරවටු කළේ ය. (අබූ දාවූද්, තිර්මිදි)

වරක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ සහබාවරුන්ගෙන් "කේලම" යනු කුමක් දැයි ඔබ දන්නවා දැ"යි ඇසූහ. "එය දන්නේ අල්ලාහ් සහ අල්ලාහ්ගේ දූතයාණන් පමණි" යි සහාබාවරු කීහ. පසු ව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ "ඔබ ඔබගේ සහෝදරයා ගැන ඔහු පිළිකුල් කරන යමක් කීම" වේයැයි කීහ. එවිට සහාබිවරයෙක් "මම කියන දේ ඔහු සතුව තිබුණා නම් ඒ පිළිබඳව ඔබතුමාගේ අදහස කුමක් ද?" ඇසීය. එයට නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ ඔබ කියන කරුණ ඔහු සතුව තිබුණා නම් එය කේලමක් වන අතර එසේ නොවූවා නම් එය අපහස කිරීමක් වෙනවා යි කීහ. (මුස්ලිම්)

දවසක් නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමා "ඔබගෙන් මට වඩාත් කැමති කෙනා ද, කියාමාවේ දී මට ඉතා සමීපව වාඩිවී සිටින්නා ද වන්නේ යහගුණ ඇති තැනත්තාය" යි කීහ.

"ඔබගෙන් මගේ කෝන්තියට ලක් වූ තැනැත්තන් සහ කියාමාවේ දී මට ඉතා ඈතින් සිටින්නන් සහ වැඩි වශයෙන් හා දීර්ඝ වේලාවක් කතා කරන්නන් 'මුතබයිහිකුන්වරු වෙති යි" කීහ. එවිට සහබාවරු එසේ හඳුන්වනු ලබන්නන් කවුරුන් දැයි ඇසූහ. එයට නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමණෝ "ආඩම්බරයෙන් කතා කරන්නන් වෙති" යැයි කීහ. (තිර්මිදි)

වරක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගෙන් "ජයග්‍රහණය කුමක් දැ"යි අසන ලදී. එයට නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ "දිව රැක ගන්න. නිවස පුළුල් කර ගන්න. ඔබ කළ වැරදි මතක් කර අඬන්න" යැයි කීහ (තිර්මිදී)

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ අහස්තලය කරා මිහ්රාජ් ගමන ගිය අවස්ථාවේ නිරයේ සිටින පිරිසක් දුටූහ. ඔවුහු මිනීමස් කමින්, තඹවලින් යුත් තම නියපොතුවලින් තම මුහුණු හා පපු සූරමින්, තුවාල කර ගනිමින් පසු වූහ. එවිට ජිබ්රීල් අලයිහිස්සලාම් තුමා ගෙන් "මොවුන් කවු ද? ඇයි මොවුන්ට මෙවැනි දඬුවමක් දී ඇත්තේ" දැයි ඇසුවෙමි. එයට ජිබ්රීල් අලයිහිස්සලාම් "මොවුන් කේලම් කියමින් මිනිසුන්ගේ මස් අනුභව කිරීමෙන් ඒ අයගේ ගරුත්වයත් සමග කෙළිසෙල්ලම් කළ අය යැයි කීහ." (අබූදාවූද්)

මිනිසෙකු පවසන සෑම වචනයක් ම පාසා සටහන් කරනු ලබන්නේ ය. ඒවා විමසනු ලබන්නේ ය. එහෙයින් වචන භාවිතයේ දී මනා පාලනයක් හා සංවරබවක් අවශ්‍ය වන බව ඉස්ලාමය අවධාරණය කරයි.

මිනිසා දිනපතා හිමිදිරියේ අවදි වන අවස්ථාවේ ඔහුගේ අවයව සියල්ල දිව දෙස බලා "අල්ලාහ්ට බිය වනු! අපගේ තත්ත්වය රැඳී ඇත්තේ ඔබ මතය. ඔබ යහපත්ව සිටින තාක් කල් අප ද යහපත් වන්නෙමු ඔබ නොමග ගියේ නම් අප ද නොමග යන්නෙමු යැයි අනතුරු අඟවන්නේ ය." යැයි නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (අහ්මද්)

මෙම සිද්ධීන් සියල්ල මුස්ලිම්වරයෙකුගේ දිවරැක ගත යුතු ආකාරය ගැන කරුණු කියා පායි. කතා කළ යුත්තේ හොඳ කරුණු ගැන පමණි. ඕපාදූප, කේලම් කීම, බැනවැදීම, දොස් කීම, නම් පටබැඳීම වැනි නරක හා පාපී ක්‍රියාවන් අනිවාර්යයෙන් ම වැළැක්විය යුතුයි. එහෙයින් සෑම මුස්ලිම් භක්තිකයකු ම ඉස්ලාමීය උපදෙස් අනුගමනය කරමින් දිව රැක ගැනීම ඔහු කෙරෙහි වගකීමක් වන්නේ ය. මන්ද යත් "දිව රැක ගත් පුද්ගලයාට ස්වර්ගය ලබා දීමේ වගකීම මම භාර ගන්නෙමි" යැයි නබිතුමාණෝ පොරොන්දු වූහ. "අල්ලාහු තආලාව හා කියාමා දිනය විශ්වාස කරන අය කතා කරන්නේ නම් යහපත් දේ කතා කරත්වා! නැතහොත් (කට වසා) නිහඬතාවය රැකගනිත්වා!" යැයි කීහ. (බුහාරි, මුස්ලිම්) මෙම උපදේශය සැළකිල්ලට ගෙන අපි මෙලොව හා පරලොව ජය අත්කර ගනිමු.

ක්‍රියාකාරකම

දිවෙන් වන අහිතකර විපාක යන මැයෙන් කෙටි දේශනයක් ඉදිරිපත් කරන්න.

# 15

# අවසර ලබා ගනිමු

අන් අයට අයත් ගෙවල් කාර්යාල සහ කර්මාන්තශාලා වැනි ස්ථානවලට අප යා යුතු නම් පළමු ව ඒ අයගෙන් අවසර ලබා ගත යුතු ය. ඒ සඳහා සමහර ස්ථානවල දොරටුව ළඟ සීනුවක් සවි කර තිබිය හැක. සැම දෙනා ම තමනට අයත් ස්ථානවල නිදහසේ සිටිති. අන් අයට එම ස්ථානයට යාමට අවශ්‍ය නම් ඒ සඳහා අවසර ලබා ගැනීම අනිවාර්‍යය. එසේ අවසර ලැබෙන්නේ නම් එහි යාමට බාධාවක් නැත. එසේ නොමැති ව අවසරය ප්‍රතික්ෂේප කෙරේ නම් එහි නොයා ආපසු හැරී ඒම වඩාත් සුදුසු ය. අවසර ලබාගන්නේ කෙසේ දැයි ඉස්ලාමය අපට උගන්වා ඇත. එය දැන අනුගමනය කර ජීවත්වීම අත්‍යවශ්‍යය.

පහත සඳහන් අල් කුර්ආන් වැකිය අන් අයගේ නිවෙස්වලට ඇතුළු වීමේ දී අවසර ලබාගැනීමේ අවශ්‍යතාවය අවධාරණය කරයි.

"විශ්වාසවන්තයනි! ඔබගේ නොවන නිවෙස්වලට ඔබ (ඇතුළුවීමට අදහස් කළෙහු නම්) එහි සිටින අයට සලාම් කියා (ඔවුන්ගේ) අවසරය නො ලබා එහි ඇතුළු නොවන්න." (24:27)

## අවසර ලබා ගැනීමේ ක්‍රියා පිළිවෙත

### 1. අන් අයගේ නිවෙස්වලට අතුළු වීමට කලින් සලාම් පැවසිය යුතුයි.

දිනක් සහාබිවරයෙක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ නිවසට ඇතුළු වීම සඳහා " ඇතුළු විය හැකි දැයි" අවසර ඉල්ලීය. වහාම නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තම සේවකයාට "ඔබ ගොස් අවසර පතන ආකාරය ඔහුට උගන්වන්න" යැයි කීවෝ ය. ඔහු "අස්සලාමු අලෛකුම් ඇතුළට ඒමට අවසර දැයි අසනු මැනවි" යි කියා දුන්නේය. (අබූ දාවූද්)

## 2. අවසර පතන්නේ තුන් වරකි.

අවසර පතන්නේ තුන් වරක් පමණි. අවසරය ලැබුණි නම් අතුළු වන්න. නැතහොත් ආපසු හැරෙන්න. (බුහාරි, මුස්ලිම්)

පළමුව සලාම් පැවසිය යුතුයි. එයට පිළිතුරක් නැති විට දොරකඩ සීනුව නාද කළ යුතු ය. ඉන් පසු ඔවුන් දොරකඩ වෙත පැමිණියේ නම් සලාම් කියා අවසර පැතිය යුතුයි. සීනුව නාද කිරීම හෝ දොරට තට්ටු කළ යුත්තේ තෙවරක් පමණි. අවසරය නොලැබුණි නම් ඇතුළු විය නො හැකි ය.

අන්‍යයන්ගේ නිවෙස්වල හෝ කාර්යාලවල

- ⋆ කිසිවෙකු නො සිටියේ නම් හෝ
- ⋆ අවසරය නො ලැබුණි නම් හෝ
- ⋆ ආපසු හැරෙන්නැ යි පවසනු ලැබූ විට හෝ ආපසු හැරී ආ යුතු ය.



### 3. නිවස ඇතුළ එබී බැලීමෙන් වැළකීම.

"අවසර පැතීම ක්‍රියා පිළිවෙතක් කරනු ලැබුවේ බැල්ම මගින් ඇතිවන වැරදිවලින් ආරක්‍ෂා වීම සඳහා ය. එම නිසා අනුන්ගේ නිවසකට යන අයකු අවසර පතා තමන් එහිම නතර කරගත යුතුය. තම බැල්ම එම නිවස තුළට යොමු නොකළ ය." (බුහාරි, මුස්ලිම්)

අනුන්ට අයත් ස්ථාන දෙස එහි දොර තුළින් හෝ ජනේලය තුළින් හෝ එබී බැලීම මහා වරදකි. තම නිවසේ අන් අයගේ කාමරවලට යන අවස්ථාවල දී පවා ඔවුන්ගේ අවසරය පැතිය යුතු ය.

ඔබගේ දරුවන් වැඩිවියට පත් වන විට ඔවුන් ද තමන්ගේ වැඩිහිටියන් අවසර පතන ආකාරයෙන් අවසර පැතිය යුතු ය. (24:59)

කෙනෙකු තම දරුවන්, මව, සහෝදරයින්, සහෝදරියන්, පියා වැනි අයකුගේ නිවෙස්වලට ඇතුළු වීමට අවශ්‍ය වන අවස්ථාවල ද අවසර ලබා පිවිසීම අනිවාර්ය වේ. අපගේ නිවෙස් තුළට ඇතුළු වන විට ද සලාම් කිව යුතු ය යන්නට පහත සඳහන් අල්කුර්ආන් වාක්‍යය සාධකයක් වන්නේ ය. (අදබුල් මුෆ්රද්)

හස්රත් අනස් රළියල්ලාහු අන්හු දෙස බලා, නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මෙසේ වදාළහ.

"මා පුතේ! ඔබ ඔබගේ පවුලේ අය වෙත ගියහොත්, සලාම් කියන්න. එය ඔබටත් ඔබගේ නිවසේ අයටත් (බරකතයක්) සෞභාග්‍යයක් වනු ඇත." (තිර්මිදි)

සභාවලට යන විටත්, එහි සිට සමුගෙන එන විටත්, අවසර ඉල්ලා සිටින ආකාරයෙන් සලාම් පැවසිය යුතු ය.

"ඔබගෙන් කෙනෙක් සභාවට පැමිණේ නම් ඔහු සලාම් කියූ දෙන්! එහි සිට පිටත් වීමට කැමති වන විට ද සලාම් කියූ දෙන්!" (අබූදාවූද්)

"අපි අන් අයගේ නිවෙස් හෝ කාර්යාලවලට තනිව හෝ පවුල් වශයෙන් හෝ ගිය විට ද මුලින් ම ඔවුනට සලාම් පැවසිය යුතුයි. පසුව ඇතුළට පැමිණිය හැකි දැයි අවසරය ඉල්ලා සිටිය යුතුයි. අවසර නොලැබුණි නම් ආපසු යා යුතු ය. මෙමගින් නෑකම් නිසි පරිදි සකස් කෙරේ. තම නිවසට යන විටත් සභාවලට යන විටත්, සමු ගන්නා විටත් සලාම් කිව යුතුයි. මෙමගින් සෑම නිවසකම (බරකත්) සෞභාග්‍යය ඇති වන්නේ ය. මෙය නබිත්වයේ අලංකාර නබි මග වන්නේ ය. මෙය සෑම විට ම අනුගමනය කර ජීවත් වෙමු.

අභ්‍යාස

පහත ප්‍රකාශ හරි නම් (හරි) යැයි ද වැරදි නම් (වැරදි) යැයි ද ලකුණු කරන්න.

1. අන් අයගේ ස්ථානවලට පිවිසීමට අවසර ලබාගත යුතු ය. ( )

2. දොරකඩ සීනුව නාද කිරීමෙන් ද අවසර පැතිය හැකි ය. ( )

3. දොරකඩ සීනුව සවිකර නැති නිවෙස්වල දී සලාම් කිව යුතු ය. ( )

4. අවසර පැතිය යුත්තේ තුන් වතාවක් පමණි. ( )

5. සභාවකට යන විට සලාම් කිව යුතුයි. ( )

6. අන් කිසිවෙකුගේ නිවසක ජනේලය තුළින් බැලිය හැකි ය. ( )

7. අපේ ම නිවසට වුවද සලාම් කියමින් ඇතුළු විය යුතුය. ( )

8. අනුන්ගේ නිවෙස්වලට ඇතුළු වන විට ද අවසර පතන ලෙස අල් කුර්ආනය පවසයි. ( )

9. දෙමව්පියන්ගේ කාමරයට අවසර නැතිව ඇතුළු විය හැකි ය. ( )

10. ඉස්ලාමයේ අවසර පතන ක්‍රමය පෙන්වා දී නැති නිසා අප කැමති අයුරින් වුවද අවසර පැතිය හැකිය. ( )

# 16

# අන් අයගේ අවශ්‍යතාවයට ප්‍රමුඛත්වය දෙමු

දිනක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වෙත පුද්ගලයෙක් පැමිණියේ ය. ඔහු තම දුප්පත්කම ගැන පැමිණිලි කළේය. ඔහුට කෑමට දීමට තරම් තම නිවසේ කිසිවක් නොතිබූ නිසා ඔහුට සංග්‍රහ කරන ලෙස සහාබාවරුන්ගෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ඉල්ලා සිටියහ. මම ඔහුට සංග්‍රහ කරන්නෙමි" යි පවසමින් අන්සාරිවරයෙක් ඔහු තම නිවසට කැඳවාගෙන ගියේය. "මොහු අපේ අමුත්තෙක්. කිසිදු අඩුවක් නැතිව මොහුට ආහාර සංග්‍රහ කළ යුතු" යැයි සිය බිරිඳට කීවේ ය. නිවසේ තිබෙන්නේ දරුවන්ට අවශ්‍ය කරන ආහාර පමණක් බව බිරිඳ පැවසූ විට, එය ගෙනැවිත් අමුත්තා ඉදිරියේ තබන ලෙසත් දෙදෙනා ම කෑම කන්නට පටන් ගන්නා අවස්ථාවේ පහනේ ආලෝකය වැඩි කරනාක් මෙන් අඟවමින් පහන නිවා දමන ලෙසත් තම බිරිඳට කීවේය. බිරිඳ ද එසේ කළා ය. අමුත්තා කුස පිරෙන්න කෑවේ ය. පසුදින නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වෙත මෙම අන්සාරිවරයා ගිය විට "ඔබගේ ආගන්තුක සත්කාරය පිළිබඳව අල්ලාහ් සතුටට පත් වූයේ ය." යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පැවසුවේ ය. පහත සඳහන් අල් කුර්ආන් වැකිය පහළ වූයේ ද එම අවස්ථාවේ දී ය.

"ඔවුහු තමන් ට අවශ්‍යතා තිබිය දී තම අවශ්‍යතාවට වඩා වෙන අයෙකුගේ අවශ්‍යතාවයට ප්‍රමුඛත්වය ලබා දෙති" (59 : 9)

අපි හැමවිට ම සියලු දෙනා සමග කරුණාවෙන් හැසිරිය යුතු බව ඉස්ලාමය අවධාරණය කරයි. අන් අය කෙරෙහි කරුණාව දැක්විය යුතුයි. හැකි සෑම උදව්වක් ම කළ යුතු යි. අන් අයගේ දුක තුරන් කිරීමට වෑයම් කළ යුතුයි. උදව් පතා අසරණව සිටින සියල්ලන් ගැනම සිතිය යුතු ය. අපගේ අවශ්‍යතාවයට වඩා අන් අයගේ අවශ්‍යතාවයන්ට හැකි පමණින් ප්‍රමුඛතාවය දිය යුතු ය. මක්

නිසා ද යත් මිනිසාට අනුකම්පා නො දක්වන අය කෙරෙහි අල්ලාහ් ද අනුකම්පා නොදක්වන බව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පවසා ඇත්තේ ය. (බුහාරි)

අපට මෙන් ම අන් අයට ද අවශ්‍යතා ඇත. කෙනෙක් තම අවශ්‍යතාවය තනියම ඉටුකර ගැනීමට නොහැකි වන අවස්ථාවේ දී අන් අයගේ උදව්ව බලාපොරොත්තු වෙයි. එවැනි අවස්ථාවල අපගේ අවශ්‍යතාව පසෙක තබා අන් අයගේ අවශ්‍යතාවය ඉටු කර දිය යුතු ය. මෙය ඉතා වැදගත් ගුණාංගයක් වන්නේ ය. කෙනෙකු මෙලොව දී මුඃමින්වරයෙකුගේ අසීරුතාවයන් තුරන් කළේ නම් අල්ලාහ් කියාමා දිනයේ දී ඔහුගේ දුකෙන් එක් දුකක් ඉවත් කරන්නේ ය. අසීරුතාවයෙන් පෙළෙන්නාට උදව් කර පහසුවක් ඇති කළේ නම් අල්ලාහ් ඔහුගේ අසීරුතාවයන් මෙලොවෙහි දී හා පරලොවෙහි දී පහසු කරන්නේ ය" යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පවසා ඇත්තාහ. (මුස්ලිම්)

අපි හදිසි අවශ්‍යතාවයක් සඳහා යමින් සිටිනවා යැයි සිතමු. එම අවස්ථාවේ දී ඇස් නොපෙනෙන අයෙකු පාර නො දැන ලත වෙමින් සිටිනවා යැයි සිතමු. වයෝවෘද්ධ පුද්ගලයෙකු බසයේ සිටගැනීමට නොහැකිව අසීරුවෙන් ගමන් කරතැයි සිතමු. රෝහලේ වෛද්‍යවරයා හමු වීමට පෝලිමේ සිටින අවස්ථාවක් ගැන සිතමු. අපගේ වාරය පැමිණෙන විට අසාධ්‍ය රෝගියෙක් පැමිණෙයි, නම් අපගේ අවශ්‍යතාව පසෙක තබා ගනිමින් අන් අයගේ අවශ්‍යතාවයට මුල් තැන දීම උතුම් ගුණාංගයකි.

මුහාජිරීන්වරු තම ගෙවල් දොරවල් අතහැර මක්කාවේ සිට මදීනාවට පැමිණියහ. ඔවුන් සියල්ල අහිමි ව පැමිණි අවස්ථාවේ දී මදීනාවේ අන්සාරිවරු ඔවුන් තම සහෝදරවරුන් වශයෙන් පිළිගත්හ. අන්සාරිවරු තම අවශ්‍යතා ගැන නොසළකා අන් අයගේ අවශ්‍යතාවලට ප්‍රමුඛතාව දුන්හ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තමාට වඩා අවශ්‍යතාව වැඩි මුහාජිරීන්වරුන්ට තමාට ලැබෙන ත්‍යාග පවා ලබා දුන්හ. මක්නිසා ද යත් අන් අයගේ අවශ්‍යතාවට ප්‍රමුඛතාව දීම මුස්ලිම්වරුන්ගේ උතුම් ගුණාංගයක් වන බැවිනි.

ගැත්තෙක් තවත් ගැත්තෙකුට උදව් කරමින් සිටින තාක් කල් එම ගැත්තාට අල්ලාහ්ගේ උදව්ව ලැබෙමින් පවතින බව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ වදාළහ. (මුස්ලිම්)

සමහර අවස්ථාවල දී සහෝදරයන් අතර ද මිතුරන් අතර ද සමහර මතභේද හට ගන්නේ ය. එසේ නොව අන් අයගේ අවශ්‍යතාවනට ප්‍රමුඛතාව දෙන්නට පුරුදු වූයේ නම් සියල්ලන්ගේ ජීවිත සතුටුදායක වන්නේ ය.

"ඔබගෙන් කෙනෙක් තමා කැමැති දේ තම සහෝදරයාට ද කැමැති වන තෙක් ඔබගෙන් කිසිවකු සැබෑ විශ්වාසවන්තයකු නොවන්නේ ය" යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පවසා ඇත. (බුහාරි, මුස්ලිම්)

සහාබාවරු සැම විටම අන් අයගේ අවශ්‍යතාවයට මූලිකත්වය දී ඇත. මෙයට සාධකයක් වශයෙන් පහත සිද්ධිය දැක්විය හැකි ය. යර්මුක් සටනින් පසු ව යුද පිටියේ බොහෝ අය තුවාල ලබා සිහිසුන්ව වැටී උන්හ. ඔවුනට පෙවීම සඳහා කෙනෙක් ජලය ගෙන ගියේ ය. කෙනකුට ජලය පෙවීමට ඉදිරිපත් වූ විට තවත් අයකු ජලය ඉල්ලා ශබ්ද නැගීම ඇසුණි. එය ඇසූ ඔහු දෙවැන්නාට ජලය පොවන ලෙස ඉඟි කළේ ය. දෙවැන්නා වෙතට ජලය රැගෙන ගිය විට තුන්වැන්නකු ජලය ඉල්ලා ශබ්ද නැගීම ඇසුණි. ඔහු තමාට නොව තුන්වැන්නාට ජලය පොවන ලෙස ඉඟි කළෙ ය. නමුත් තුන්වැන්නා වෙතට ජලය රැගෙන ගිය වෙලේ ඔහු මරණයට පත් වී සිටියේ ය. එවිට දෙවැන්නා වෙත ජලය රැගෙනගිය විට ජලය රැගෙන යන ලදී. ඔහු ද ජලය පානය නොකර ම මිය ගොස් සිටියේ ය.

මෙම සිද්ධියේ දී තම මරණාසන්න මොහොතේ පවා තම අවශ්‍යතාවයට වඩා අන් අයගේ අවශ්‍යතාවයට මුල් තැන දුන් මහත්මා ගුණය දකින්නෙමු.

එහෙයින් අපි අප ගැන පමණක් නොසිතා අන් අය දෙස ද අවධානය යොමු කළ යුතු ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තම අවශ්‍යතාවයට වඩා අන් අයගේ අවශ්‍යතාවයට මූලිකත්වය දුන්හ. එසේ කටයුතු කරන ලෙස අන් අයට ද උපදෙස් දුන්හ. එහෙයින් අපි ද අපට හැකි පමණින් අන් අයට ඉඩ දී ඒ අයගේ අවශ්‍යතාවන්ට ප්‍රමුඛතාව දී කටයුතු කරමු.

අභ්‍යාස

**වරහන තුළ ඇති වඩාත් සුදුසු වචනය තෝරා එයට යටින් ඉරක් අඳින්න.**

1. අන් අයගේ අවශ්‍යතාවන්ට (අල්ලාහ් වෙනුවෙන්, හෘදසාක්ෂිය වෙනුවෙන්, මිනිසුන් වෙනුවෙන්) මුල් තැන දිය යුතුය.
2. මිනිසුනට සෙනෙහස දක්වන අයට (මලාඉකාවරු, නබිවරු, අල්ලාහ්) සෙනෙහස දක්වයි.
3. තම අවශ්‍යතාවන්ට වඩා මුහාජිරීන්වරුන්ගේ අවශ්‍යතාවන්ට (සහාබාවරු, අන්සාරිවරු, කුරයිෂිවරු) මුල් තැන දුන්හ.
4. අප අතර රණ්ඩු දබර ඇති වීමට ප්‍රධාන හේතුවක් වනුයේ (ආත්මාර්ථකාමිත්වය, ශාරීරික ශක්තිය, පාරාර්ථකාමිත්වය) ය.
5. සමහර සහාබාවරු තම මරණාසන්න මොහොතේ පවා ජලය පානය නොකර මෙලොවින් සමු ගැනීමට හේතුව. (පිපාසය නොමැතිකම, ජලය නොලැබීම, අන් අයගේ පිපාසය සංසිඳුවන්න ඉදිරිපත් වීම) නිසා ය.

**ක්‍රියාකාරකම**

අන් අයගේ අවශ්‍යතාවයට මුල් තැන දීම යන මාතෘකාවෙන් කෙටි නාට්‍යයක් සකස් කර රඟ දක්වන්න.

17

# අල් කුර්ආනය හැඳින්වීම

අල්ලාහු තආලා විසින් පොදුවේ මිනිසාට දායාද කළ මග පෙන්වීම අල් කුර්ආනයයි. එබැවින් එය ජීවන මාර්ගෝපදේශයක් ලෙස පිළිගෙන ඒ අනුව කටයුතු කිරීම වගකීමක් වේ. අල්ලාහ් හා අප අතර වන සබඳතාව වර්ධනය වන්නේ එවිට ය. එය පාරායනයට හා අධ්‍යයනයට ඇල්මක් ද ඇති වේ. එහි උපදේශ ක්‍රියාවට නැංවීම සඳහා සිත ඉඩ දෙයි.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට වයස අවුරුදු 40 දී "ඉක්රඃ" යන වාක්‍යයෙන් ආරම්භ වන සූරතුල් අලක් (96) හි පළමු වදන් පහ පහළ විය. එතැන් පටන් නබිතුමාගේ වෆාතය දක්වා වසර 23 ක කාලයක් තිස්සේ එය කොටස් වශයෙන් පහළ වී නිමා විය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට ප්‍රදානය කරනු ලැබූ අල් කුර්ආනය ලෝවැසියාට පහළ වූ අවසාන දහම වන්නේ ය. එයට ''අල්ෆුර්කාන්'', ''අල්කිතාබ්'', ''අත්තන්සීල්'' යනාදී විවිධ නාම ඇත.



නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ කාලයේ අල් කුර්ආනය ග්‍රන්ථයක් ලෙස දක්නට නොලැබිණි. පොදුවේ සියලුම සහාබාවරුන් අවශ්‍ය ප්‍රමාණය කටපාඩම් කර සිටියෝ ය. කටපාඩමින් ම පාරායනය කර පැමිණියෝ ය. නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම් තුමාණන් විසින් පත් කළ සමහර සහාබාවරු අල් කුර්ආනයේ වාක්‍ය විවිධ ලේඛනවල සටහන් කොට සුරක්ෂිතව තැබූ හ. ඔවුන් "කුත්තාබුල් වහී" (වහී ලියන්නන්) යන නමින් අමතන ලදී. එම ලේඛන එක්රැස්කර පළමුව අබුබක්ර් සිද්දීක් රලියල්ලාහු අන්හු තුමාගේ යුගයේත් ඉන්පසු උස්මාන් රලියල්ලාහු අන්හු තුමාගේ පාලන කාලයේ දීත් "මුස්හෆ්" ලෙස සකස් කරන ලදී. එම පිටපත පදනම් කොට ගෙන වර්ථමාන අල් කුර්ආනය ග්‍රන්ථයක් ලෙස මුද්‍රණය කරනු ලබයි.

අල් කුර්ආනයේ වාක්‍ය 6666 ක් ඇත. ඒවා පරිච්ඡේද 114 ක අන්තර්ගත වී තිබේ. වැකි "ආයත්" යනුවෙන් ද පරිච්ඡේද "සූරා" යනුවෙන් ද හැඳින් වේ. අල් කුර්ආනයේ වැකි ජුස්උ තිහක් වශයෙන් වෙන් කොට ඇත. දින හතකින් පාරායනය කළ හැකිවන පරිදි මන්සිල් 7 කට බෙදා ඇත.

අල් කුර්ආනය ග්‍රන්ථයක් වශයෙන් දක්නට ලැබුණ ද එය අල්ලාහ්ගේ කතාව (කලාමුල්ලාහ්) වේ. එබැවින් සෑම මුස්ලිම්වරයෙකු ම එය තම ප්‍රාණයට වඩා අගය කළ යුතු ය. දිනපතා එය පාරායනය කළ යුතු ය. මන්ද යත් අල් කුර්ආනය පාරායනය කිරීම (කිරාඅතුල් කුර්ආන්) අධික ආනිශංස ලබා දෙන ඉබාදතයකි.

අල් කුර්ආනය පාරායනය කිරීමේ දී පහත සඳහන් කරුණු පිළිපැදිය යුතු ය.

- වුළූ කර පිරිසිදුව සිටීම.
- ශරීරය, ඇඳුම් යනාදිය පිරිසිදුව තබා ගැනීම.
- අල් කුර්ආනය පාරායනය කිරීම අරම්භ කරන විට ''අඋඞු'' පවසා ෂෛතාන්ගෙන් ආරක්ෂාව පැතිම.
- ඉන් අනතුරු ව ''බිස්මිල්ලාහ්'' පැවසිම.
- තජ්වීද් ක්‍රමය පිළිපැද අලංකාර වත් ලෙස පාරායනය කිරීමට උත්සාහ කිරීම.
- සජදාවේ වැකි පාරායනය කිරීමේදී සජදා තිලාවත් කිරීම.

- අන් අයට බාධාවන අයුරින් පාරායනය කිරීමෙන් වැලකීම.
- අල් කුර්ආනය පාරායනය කරනු ලබන විට නිහඬව සිට සවන් දීම.
- වැසිකිළි වැනි තහනම් කළ ස්ථානවල අල් කුර්ආනය පාරායනයෙන් වැළකීම.
- නජීස් වූ ස්ථානයන්ට එය රැගෙන යාමෙන් වැළකීම.

පරලොව දී අප වෙනුවෙන් ''ෂෆාඅත්'' කරනු ලබන අල් කුර්ආනය දිනපතා පාරායනය කරමු. ඒ අනුව ජීවත් වී දෙලොවෙහිම ජය ලබමු.

**අභ්‍යාස**

1. පහත සඳහන් අරාබි පදවල අර්ථය ලියන්න.
   1 කිරාඅතුල් කුර්ආන්
   2 සජ්දා
   3 කලාමුල්ලාහ්
   4 කුත්තාබුල් වහී
2. අල් කුර්ආනය ''ජුස්උ'' කීයකට බෙදා තිබේ ද?
3. අල් කුර්ආනය පාරායනය කිරීමේ දී පිළිපැදිය යුතු කරුණු 5 ක් ලියන්න.

# 18

# අල්කුර්ආනය පාරායනය කරමු - I

## ( අවසාන සූරා තුන )



### සූරතුල් ඉහ්ලාස්, සූරතුල් ෆලක්, සූරතුන් නාස්

අල් කුර්ආනයේ අවසන් සූරා තුන මෙම සූරා ය. මේවා පාරායනයෙන් අධික ආනිශංස ලැබේ. සෑම සලාතයක ම අවසානයේ මෙම සූරා පාරායනය කරන ලෙස නබි සල්ලල්ලහු අලෛහි වසල්ලම් තුමා අණ කළෝ ය. මෙම සූරා උදේ සවස සහ බොහෝ සුන්නත් සලාතයන්වලට පසුව ද පාරායනය කරන සූරාවන් වේ. "නබි සල්ලල්ලහු අලෛහි වසල්ලම් තුමා දිනපතා නිදා ගන්නා විට මෙම සූරාවන්

තුන තෙවතාවක් බැගින් පාරායනය කොට, තම දෑතේ අල්ලෙහි පිඹ, තමාගේ මුළු ශරීරය ම පිරිමදිතියි" යනුවෙන් ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය දැනුම් දෙන්නී ය. (බුහාරී)

"මෙම රාත්‍රියේ පහළ වූ වාක්‍ය මෙන් වාක්‍යයන් මා මීට පෙර පහළ වනු දැක නැත්තෙමි. ඒවා සූරතුල් ඉඛ්ලාස්, සූරතුල් ෆලක් සහ සූරතුන් නාස්, වේ" යැයි යනුවෙන් නබි සල්ලල්ලහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ.

## සූරතුල් ඉඛ්ලාස්

අල් කුර්ආනයේ අන්තර් ගත 112 වන සූරාව සූරතුල් ඉඛ්ලාස් වේ. මෙය වාක්‍ය 4 කින් සමන්විත ඉතා කුඩා සූරාවකි. මෙය මක්කාවේ පහළ වූ මක්කී සූරාවකි. මෙම සූරාව අල්ලාහ් ඒකයා බවත්, සැබෑ දෙවියා ඔහු බවත් තහවුරු කරන්නේ ය. එබැවින් මෙයට සූරතුල් අහද්, සූරතුල් තව්හීද් යන නම් ද ඇත. "ඉඛ්ලාස්" නමැති අරාබි වචනයේ අර්ථය "පිවිතුරු බව" යන්නයි. අල්ලාහ් සියලු ෂිර්කයන්වලින් පරිශුද්ධ වූවෙකි. "ඔහුට මව්, පිය, සහෝදර සහෝදරියන් යන කිසිවෙකු නොමැත. එසේ ම කිසිවෙකුගෙන් කිසිදු අවශ්‍යතාවයක් අල්ලාහ්ට නොමැත" යනුවෙන් මෙම සූරාව කෙටියෙන් විස්තර කරයි.

මක්කාවේ ජීවත් වූ කාෆිර්වරු නබි සල්ලල්ලහු අලෛහි වසල්ලම් තුමාණන් වෙත පැමිණ, ඔබ පවසන දෙවියා කෙබඳු පුද්ගලයෙකු දැයි විමසූ විට එයට පිළිතුරු වශයෙන් මෙම සූරාව පහළ විය. (තිර්මිදි) මෙය අල් කුආනයේ තුනෙන් එකකට සම වේ යැයි නබි සල්ලල්ලහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (බුහාරි)

## සූරාව හා එහි අර්ථය




අසීමිත කරුණාවන්ත, අපරිමිත සෙනෙහෙවන්ත අල්ලාහ්ගේ නාමයෙන් (ආරම්භ කරමි.)

1 (නබිවරයාණනි!) මිනිසුන් බලා ඔබ (මෙසේ) පවසන්න. අල්ලාහ් ඒකයකි.

2 (එම) අල්ලාහ් (කිසිවෙකුගේ) අවශ්‍යතාවයන් නොමැත්තෙකි. (සියලු දෑ ඔහුගේ දායාදයන් අපේක්ෂා කරති.)

3) ඔහු ව (කිසිවෙකු) වැදුවේ නැත. (කිසිවකු විසින්) වදනු ලැබුවේ ද නැත. (එබැවින් ඔහුට පියකු නැත. පරම්පරාවක් ද නොමැත)

4) ඔහුට සමාන කිසිවක් ද නොමැත.

## සූරතුල් ෆලක්

අල් කුර්ආනයේ අන්තර්ගත 113 වන සූරාව මෙය වේ. මෙය වාක්‍ය පහකින් සමන්විත මක්කී සූරාවකි. "ෆලක්" යන අරාබි පදයේ තේරුම හිමිදිරි උදෑසන යන්නයි. මෙම සූරාව අන්ධකාරයේ හානිවලිනුත්, ඊර්ෂ්‍යාකාරයන් හා හූනියම්කරුවන්ගෙන් ආරක්ෂාව පතන අයුරින් සැකසී ඇත.

### සූරාව හා එහි අර්ථය




අසීමිත කරුණාවන්ත, අපරිමිත සෙනෙහෙවන්ත අල්ලාහ්ගේ නාමයෙන් (ආරම්භ කරමි.)

1) (නබිවරයාණනි! ඔබ ප්‍රාර්ථනා කොට) පවසන්න හිමිදිරියේ නාථයාගෙන් මම ආරක්ෂාව පතමි.

2) ඔහු මැවූ දේවල හානියෙන් ද.

3) (සියල්ල) සඟවාලීම සඳහා පැතිරී යන අන්ධකාරයේ හානියෙනුත්

4) ගැට දමා පිඹින (හූනියම් කරන ) කාන්තාවන්ගේ හානියෙනුත්

5) ඊර්ෂ්‍යාකරුවන්, ඊර්ෂ්‍යා කිරීමෙන් ඇති වන හානියෙනුත් (ආරක්ෂාව පතමු)

## සූරතුන් නාස්

අල් කුර්ආනයේ අන්තර් ගත 114 වන හා අවසාන සූරාව මෙය වන්නේ ය. මෙය වාක්‍ය හයකින් සමන්විත මක්කී සූරාවකි. "නාස්" යන අරාබි පදයේ අර්ථය "මිනිසුන්" යන්න ය. මෙම සූරාව නපුරු මිනිසුන් හා ජින්වරුන් මෙන් ම සිතෙහි උපදින සැකයන්ගෙන් ද ආරක්ෂාව පතන අයුරින් සැකසී තිබේ.

## සූරාව හා එහි අර්ථය


سُورَةُ النَّاسِ

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

قُلْ أَعُوذُ بِرَبِّ النَّاسِ ۝١ مَلِكِ النَّاسِ ۝٢ إِلَٰهِ النَّاسِ ۝٣ مِن شَرِّ الْوَسْوَاسِ الْخَنَّاسِ ۝٤ الَّذِي يُوَسْوِسُ فِي صُدُورِ النَّاسِ ۝٥ مِنَ الْجِنَّةِ وَالنَّاسِ ۝٦

අසීමිත කරුණාවන්ත, අපරිමිත සෙනෙහෙවන්ත අල්ලාහ්ගේ නාමයෙන් (ආරම්භ කරමි.)

1) (නබි වරයාණෙනි! ප්‍රාර්ථනා කොට) ඔබ පවසන්න. මිනිසුන්ගේ නාථයාගෙන් මම ආරක්ෂාව පතමි.

2) (ඔහු ය) මිනිසුන්ගේ (සැබෑ) රජු.

3) (ඔහු ය) මිනිසුන්ගේ (වැඳීමට සුදුසු සැබෑ) නාථයා.

45) මිනිසුන්ගේ සිත් තුළ (අනවශ්‍ය)සැකයන් ඇතිකොට සැඟවී යන දුර්ගුණ ඇති අයගේ හානියෙනුත් (ආරක්ෂාව පතමි)

6) එවන් දුර්ගුණ ඇත්තෝ ජින්වරුන් අතර ද සිටිති. මිනිසුන් අතර ද සිටිති.

අභ්‍යාස

1) "ඉහ්ලාස්" යන්නෙහි අර්ථය කුමක්ද?

2) සූරතුල් ඉහ්ලාස් අල් කුර්ආනයේ කීවෙනි සූරාව ද?

3) සූරතුල් ඉහ්ලාස් හඳුන්වන වෙනත් නම් දෙකක් ලියන්න.

4) "ෆලක්" යන්නෙහි අර්ථය කුමක් ද?

5) සූරතුල් ෆලක් හි අන්තර්ගත වාක්‍ය ගණන කීය ද ?

6) අල් කුර්ආනයේ අවසාන සූරාව කුමක් ද?

ක්‍රියාකාරකම

1. ඉහත සඳහන් සූරාවන් තුන ද එහි අර්ථයන් ද කට පාඩම් කරන්න.

# 19

# අල්කුර්ආනය පාරායනය කරමු II

## (සූරතුල් ෆීල් )



සූරතුල් ෆීල් මක්කාවේ පහළ වූ වාක්‍ය 5 න් සමන්විත මක්කී සූරාවක් වන්නේ ය. නබිතුමා ඉපදුණු වර්ෂයේ සිදු වූ ඉතා වැදගත් සිදුවීමක් සිහිපත් කරනා අයුරින් මෙම සූරාව සැකසී ඇත.

අබ්රහා රජු කඃබාවට ඊර්ෂ්‍යා කළේය. ජනතාව සමූහ වශයෙන් පැමිණ එය වන්දනාමාන කිරීම ඔහු ප්‍රිය නොකළේ ය. එබැවින් කඃබාවට වඩා අලංකාර සිද්ධස්ථානයක් නිර්මාණය කළේ ය. එය කෙරෙහි ජනයා ඒකරාශී කිරීමට නන් අයුරින් උත්සාහ කළේ ය. නමුත් කිසිවෙක් එහි නො ගියේ ය.

එනිසා අවසාන වශයෙන් කඃබාවට පහර දී විනාශ කිරීමට සැලසුම් කළේ ය. ඒ සඳහා ශක්තිමත් ඇත් සේනාවක් නිර්මාණය කොට කඃබාව විනාශ කිරීම පිණිස මක්කාවට යැවීය.

එනමුත් අල්ලාහ් තම දේවස්ථානය විනාශ කිරීම සඳහා පැමිණි අබ්රහාගේ ඇත් සේනාව කුඩා කුරුළු රංචුවක් මගින් විනාශ කළේ ය. මෙම කුරුල්ලෝ කුඩා ගල් කැට ඇතුන් වෙත දැමුවෝ ය. එමගින් ඇත් සේනාවෝ දැවී විනාශ වූහ.

අල්ලාහ් අබ්රහා හා ඔහුගේ ඇත් සේනාව විනාශ කළේ ය. අල්ලාහ්ගේ ශක්තිය හා හැකියාවත්, කඃබාවේ පූජනීයත්වයත් මෙමගින් පෙන්නුම් කෙරේ. "ෆීල්" යන්නෙහි අරුත ඇතා වේ. නබිතුමා ඉපදුණු වසර (ආමුල් ෆීල්) "ඇත් වසර" යනුවෙන් හඳුන්වනු ලබන්නේ මේ නිසා ය.

### සූරාව හා එහි අර්ථය


سُورَةُ الْفِيلِ مَكِّيَّةٌ وَهِيَ خَمْسُ آيَاتٍ

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

أَلَمْ تَرَ كَيْفَ فَعَلَ رَبُّكَ بِأَصْحَابِ الْفِيلِ ﴿١﴾ أَلَمْ يَجْعَلْ كَيْدَهُمْ فِي تَضْلِيلٍ ﴿٢﴾ وَأَرْسَلَ عَلَيْهِمْ طَيْرًا أَبَابِيلَ ﴿٣﴾ تَرْمِيهِم بِحِجَارَةٍ مِّن سِجِّيلٍ ﴿٤﴾ فَجَعَلَهُمْ كَعَصْفٍ مَّأْكُولٍ ﴿٥﴾

අසීමිත කරුණාවන්ත, අපරිමිත සෙනෙහෙවන්ත අල්ලාහ්ගේ නාමයෙන් (ආරම්භ කරමි.)

1. (නබිවරයාණෙනි! අබ්රහාගේ) ඇත් සේනාව ඔබගේ නාථයාණන් කෙලෙස (විනාශ) කළේ දැයි ඔබ (සිතා නොබැලුවෙහි ද?)

2. ඔවුන්ගේ කුමන්ත්‍රණය ඔහු නාස්ති නොකළේ ද ?

3. ඔහු ඔවුන් වෙත අබාබීල් කුරුල්ලන් සමූහ වශයෙන් එවනු ලැබී ය.

4. (ගිනියම් වූ) කුඩා ගල් කැට ඔවුන් වෙත හෙළනු ලැබී ය.

5. එමගින්, ඔහු ඔවුන්ව කුරුල්ලන් කොටමින් කෑ කරල් බවට පත්කොට (විනාශ කළේය)

**අභ්‍යාස**

1. මක්කාවේ පහළ කළ සූරාවන් කෙසේ අමතන්නේ ද?

2. ඇත් වසර අරාබියෙන් කෙසේ අමතන්නේ ද?

3. ඇත් හමුදාව විනාශ කළ කුරුළු රංචුව හඳුන්වන නම කුමක්ද?

4. අල්ලාහ් ඇත් සේනාවෙන් කඃබාව ආරක්ෂා කළ අයුරු කෙටියෙන් විස්තර කරන්න.

**ක්‍රියාකාරකම**

සූරතුල් ෆීල් හා එහි අර්ථය කට පාඩම් කරන්න.

# 20

# අල්-හදීස්




මිනිසුන්ට මග පෙන්වීම සඳහා අල්ලාහුතආලා විසින් මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් යවනු ලැබුවේ ය. ඒ සමග ම නබිතුමාණන්ට අල් කුර්ආනය පහළ කළේ ය. අල් කුර්ආනයේ මග පෙන්වීම් මිනිස් සමාජයට දේශනා කළ මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ ජීවිතය, මුළු මානව සංහතියට ම ආදර්ශයක් වේ. මෙම ජීවන ක්‍රමය සුන්නා යනුවෙන් හඳුන්වනු ලැබේ.

ඉස්ලාමයේ ප්‍රධානතම මූලාශ්‍රය ලෙස අල් කුර්ආනය හා සුන්නාව දක්නට ලැබේ. අල්ලාහුතආලාගේ විශේෂිත වූ ඥානය හා සම්බන්ධ වී ඇති බැවින් අල් කුර්ආනය පළමු මූලික නීති මූලාශ්‍රය ලෙස පිළිගනු ලැබේ. අල් කුර්ආනයේ පහදා දීම හා එහි ප්‍රායෝගික පුහුණුව ලෙස පවතින සුන්නාව දෙවන නීති මූලාශ්‍රය ලෙස පිළිගනු ලැබේ.

හදීස් යනු නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ වචනය, ක්‍රියාව, අනුමත කිරීම්, ගුණාංග හා වර්ණනාව යනාදිය වේ. එනම් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පැවසූ දෑ, කළ දෑ, ඉටුකරන ලෙස අණ කළ දෑ, එමෙන් ම එතුමන්ගේ නියෝග, ලිපි, ගිවිසුම්, අනුමත කිරීම් යනාදී මේ සියල්ල හදීස් යනුවෙන් හැඳින්වේ. පොදුවේ හදීස්, සුන්නා යන පද දෙකම හදීස් ක්ෂේත්‍රයේ විද්වතුන් විසින් එකම අර්ථයකින් භාවිත කෙරේ.

අල් කුර්ආනයට පැහැදිලි කිරීමක් ලෙස හදීස් පවතී. හදීස් නොමැතිව අල් කුර්ආනය අවබෝධ කරගත නොහැකි ය. අල් කුර්ආනයේ කෙටියෙන් සඳහන් කළ කරුණු වලට විස්තරාත්මක අවබෝධය හදීස් මගින් පමණක් ලබාගත හැකි ය. අල්ලාහුතආලා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් ම අල් කුර්ආනය ඉගැන්වීමේ භාරදූර වගකීමත් සහිතව යැවීය. එබැවින් අල් කුර්ආනයේ ප්‍රායෝගික ආදර්ශය ලෙස හදීස් දක්නට ලැබේ. එබැවින් සහීහ් වූ හදීස් කිසි විටකත් කුර්ආනයට පටහැනි නොවේ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ කාලයේ ජීවත් වූ සහාබාවරුන් විසින් එතුමාණන්ගේ හදීසයන් කටපාඩම් කිරීම මගින් ආරක්ෂා කරන ලදී. සහාබාවරුන් අතරින් ආයිෂා රළයල්ලාහු අන්හා ඉබ්නු උමර් රළියල්ලාහු අන්හු, අබූහුරෛරා රළියල්ලාහතු අන්හු යනාදීහූ හදීස් ක්ෂේත්‍රයේ විශේෂඥයෝ වූහ. අනතුරු ව පසු කාලයේ බිහි වූ විද්වතුන් විසින් හදීස් ග්‍රන්ථ වශයෙන් සංස්කරණය කරන ලදී. ඒ අතර අස්සිහා හුස්සිත්තා නමැති හදීස් ග්‍රන්ථ හය අති ප්‍රධාන වේ.

අල් කුර්ආනයත් සුන්නාවත් හදීසයේ වැදගත්කම අවධාරණය කරයි. අල්ලාහුතආලා පහත සඳහන් අයුරින් අල් කුර්ආනයේ පවසන්නේ ය.

"රසූල්වරයා ඔබ වෙත කුමක් රැගෙන ආවේ ද, එය පිළිගන්න. ඔහු වැළැක් වූ දෙයින් වැළකී සිටින්න" තවත් තැනක "අල්ලාහ්ගේ දූතයා තුළ ඔබට යහපත් ආදර්ශයන් ඇත"(33:21). මෙලෙස අල්ලාහුතආලා සුන්නාවේ වැදගත්කම පිළිබඳ ව අල් කුර්ආනයේ පවසන්නේ ය.

එසේ ම "මම ඔබවෙත කරුණු දෙකක් හැර යන්නෙමි. එම කරුණු දෙක පිළිපදින තාක්කල් ඔබ නො මග නොයනු ඇත. අල්ලාහ්ගේ ධර්මය ඉන් එකකි. අනෙක මාගේ ක්‍රියා පිළිවෙත" යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (මුවත්තා)

එබැවින් හදීසයන් ඉගෙනීමත්, පිළිපැදීමත්, එය ආරක්ෂා කිරීමත්, දේශනා කිරිමත් අපගේ වගකීම වේ.

අපි දැන් හදීස් කිහිපයක් ගැන සළකා බලමු.

හදීස් 1

عَنْ أَبِي هُرَيْرَةَ رَضِيَ اللَّهُ عَنْهُ قَالَ، قَالَ رَسُولُ اللَّهِ صَلَّى اللَّهُ عَلَيْهِ وَسَلَّمَ:

"إِنَّ اللَّهَ لا يَنْظُرُ إِلَى صُوَرِكُمْ وَأَمْوَالِكُمْ وَلَكِنْ يَنْظُرُ

إِلَى قُلُوبِكُمْ وَأَعْمَالِكُمْ"     (متفق عليه)

"නියත වශයෙන් ම අල්ලාහ් ඔබගේ රූපය දෙස හෝ ධන සම්පත් දෙස නොබලන්නේ ය. නමුත් ඔබගේ සිත දෙස හා ක්‍රියාවන් දෙස බලන්නේ ය" යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පැවසූ බව අබූ හුරෛරා රළියල්ලාහු අන්හු තුමා වාර්තා කරයි. (මූලාශ්‍රය - බුහාරි, මුස්ලිම්)

ශදීස් 2

عَنْ أَبِيْ مُوْسَى الْأَشْعَرِي رَضِيَ اللَّهُ عَنْهُ قَالَ: قَالَ رَسُوْلُ اللَّهِ صَلَّى اللَّهُ

عَلَيْهِ وَسَلَّمَ: "أَطْعِمُوا الْجَائِعَ، وَعُوْدُوْا الْمَرِيْضَ، وَفُكُّوْا الْعَانِيَ"

(رواه البخاري)

"බඩගින්නෙන් පසුවන්නන්ට ආහාර දෙන්න. රෝගීන්ගේ සුවදුක් විමසන්න. සිරකරුවන් නිදහස් කිරීමට උපකාරී වන්න" යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූ බව අබූ මූසා රළියල්ලාහු අන්හු තුමා වාර්තා කරයි. (මූලාශ්‍රය - බුහාරි)

හදීස් 3

عَنْ أَبِي هُرَيْرَةَ رَضِيَ اللَّهُ عَنْهُ قَالَ، قَالَ رَسُولُ اللَّهِ صَلَّى اللَّهُ عَلَيْهِ وَسَلَّمَ:

"وَالَّذِي نَفْسِي بِيَدِهِ لاَ تَدْخُلُوا الْجَنَّةَ حَتَّى تُؤْمِنُوا ، وَلاَ تُؤْمِنُوا

حَتَّى تَحَابُّوا ، أَوَلاَ أَدُلُّكُمْ عَلَى شَيْءٍ إِذَا فَعَلْتُمُوهُ تَحَابَبْتُمْ ؟

أَفْشُوا السَّلاَمَ بَيْنَكُمْ". (رواه مسلم)

"මාගේ ප්‍රාණය කවරකු සතුව තිබේද ඔහු කෙරෙහි දිවුරා කියමි! ඔබ ඊමාන් කරන තුරු ස්වර්ගයට නොපිවිසෙන්නෙහු ය. ඔබ කෙනෙකුට කෙනෙක් ස්නේහය දක්වන තුරු ඊමාන් නොකරන්නෙහු ය. ඔහු අතර ස්නේහය වඩවන දෙයක් මම ඔබට දන්වම් ද ?" යි අසා, ඔබ අතර සලාමය පතුරුවන්න, යයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පැවසූ බව අබූ හුරෛරා රළියල්ලාහු අන්හු තුමා දනුම් දුන්නේ ය. (මූලාශ්‍රය -බුහාරි, මුස්ලිම්)

හදීස් 4

عَنْ عَبْدِ اللَّهِ بْنِ مَسْعُودٍ رَضِيَ اللَّهُ عَنْهُ قَالَ:

قَالَ رَسُولُ اللَّهِ صَلَّى اللَّهُ عَلَيْهِ وَسَلَّمَ:

" وَإِنَّ الْكَذِبَ يَهْدِي إِلَى الْفُجُورِ وَإِنَّ الْفُجُورَ يَهْدِي إِلَى النَّارِ

وَإِنَّ الرَّجُلَ لَيَكْذِبُ حَتَّى يُكْتَبَ عِنْدَ اللَّهِ كَذَّابًا " [البخاري]

"නියත වශයෙන් ම අසත්‍යය (බොරුව) පාපයට මග පෙන්වයි. පාපය නිරයට මග පෙන්වයි. අධික වශයෙන් අසත්‍ය ප්‍රකාශ කරන්නා අල්ලාහ් සන්තකයේ බොරුකාරයා වශයෙන් සටහන් කරනු ලබයි. "යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පැවසූ බව ඉබ්නු මස්ඌද් රළියල්ලාහු අන්හු තුමාණෝ දනුම් දුන්ණෝ ය. (මූලාශ්‍රය - බුහාරි )

අභ්‍යාස

**පහත සඳහන් ප්‍රකාශ හරි නම් ☑ ලකුණ ද වැරදි නම් ☒ ලකුණ ද යොදන්න**

1. අල් හදීස් ඉස්ලාමයේ පළමු වන නීති මූලාශ්‍රය වේ. ( )
2. අස්සිහා හුස්සිත්තාහ් යනු අල් කුර්ආන් විවරණ ග්‍රන්ථයකි. ( )
3. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ජීවන ක්‍රමය "සුන්නා" යනුවෙන් හඳුන්වනු ලැබේ. ( )
4. හදීස් හා සුන්නා යනු වෙනස් වූ අරුත් දෙන පද දෙකකි. ( )
5. හදීසයට විස්තරයක් ලෙස අල් කුර්ආනය පවතී. ( )
6. ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය හදීස් ග්‍රන්ථාරූඪ කළා ය. ( )
7. ඉබ්නු උමර් රළියල්ලාහු අන්හු තුමා හදීස් කටපාඩම් කළ අය අතර වැදගත් කෙනෙකි. ( )
8. අල්ලාහ් මිනිසුන්ගේ සිත පමණක් බලන්නේ ය. ( )

**ක්‍රියාකාරකම**

1. ඔබ ඉගෙන ගත් හදීසයන් හා එහි අර්ථයන් බ්‍රිස්ටල් බෝඩ් පත්‍රිකාවක ලියා පන්ති කාමරයේ ප්‍රදර්ශනය කරන්න.

# 21

# සීරතුර් රසූල් 01

## මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ උපත හා තරුණ විය

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් ඉපදීමට දින කිහිපයකට පෙර යෙමන් දේශයේ රජු වන 'අබ්රහා' විශාල සේනාවක් සමග කඃබාවට පහර දීම සඳහා පැමිණියේ ය. නමුත් අල්ලාහු තආලා අබාබීල් නමැති කුඩා පක්ෂීන් මගින් එම සේනාව විනාශ කළේ ය. මෙම විශ්මිත සිදුවීම සිදු වූ වර්ෂය "ඇත් වසර" (ආමුල් ෆීල්) නම් වේ. මෙම වසරේ රබීඋල් අව්වල් මස සඳු දින හිමිදිරි උදෑසන නබිතුමාණෝ ඉපදුණාහ. මෙය ක්‍රි.ව. 571 වන වසර ලෙස ගණනය කොට ඇත. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ගේ පියා ගේ නම අබ්දුල්ලාහ් ය. මවගේ නම ආමිනා ය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඉපදීමට පෙර එතුමාගේ පියා මරණයට පත් වූහ. පසුව අරාබිවරුන්ගේ සිරිතට අනුකූල ව කිරි දී හදා වඩා ගැනීම සඳහා හලීමතුස් සඃදියියා නමැති ගැමි කාන්තාවට භාර දෙන ලදි. වසර 4ක් පමණ හලිමා තුමියගේ රැකවරණය යටතේ හැදී දැඩි වී පසු ව එතුමා මව වූ ආමිනාට භාරදෙනු ලැබූහ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තම මව සමග වයස අවුරුදු 6 දී ඥාතීන් හමුවීම සඳහා යත්රිබයට ගියේ ය. එහි සිට මක්කාවට එන අතරතුර අෆ්රා නමැති ස්ථානයේ දී තම මව වෆාත් වූවා ය. අනතුරුව සීයා වන අබ්දුල් මුත්තලිබ් විසින් කුඩා මුහම්මද්ට රැකවරණය දෙන ලදී. වයස අටේ දී සීයා අබ්දුල් මුත්තලිබ් ද මරණයට පත් විය. ඉන්පසුව එතුමා මහප්පා වූ අබුතාලිබ්ගේ රැකවරණයට පත් විය.

අබුතාලිබ් දුප්පතෙකු වුවත් කුඩා මුහම්මද්ට තම දරුවන්ට වඩා සෙනෙහසත් රැකවරණයත් ලබා දුන්නේ ය. ඥාති සොහොයුරන් සමග එක්ව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අබුතාලිබ් ගේ එළුවන් රැක බලා ගත්තේ ය.

එතුමා තම 12වන වියේ දී මහප්පා වූ අබුතාලිබ් සමග සිරියාවට වෙළඳාමේ ගියේ ය. දකුණු සිරියාව ආසන්නයේ "බුස්රා" නමැති ස්ථානයේ ක්‍රිස්තියානි පූජකවරයෙකු වූ "බුහයිරා" නමැත්තාට නුබුව්වතයේ ලක්ෂණ කුඩා මුහම්මද් ගෙන් දිස් විය. එබැවින් එම පූජක තුමා කුඩා මුහම්මද් ව පිළිගෙන ගරු බුහුමන් දක්වා සංග්‍රහ කළේ ය. යුදෙව්වන් ගෙන් මෙම දරුවාට අනතුරු සිදුවිය හැකි බවට අවවාද කොට ඔහුව නැවතත් මක්කාවට රැගෙන යන ලෙස ඔහු අබුතාලිබ්ට දැන්වූයේ ය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් ඉපදී හැදී වැඩුණු අරාබියාවේ එදා ජීවත් වූ මිනිස්සු අඥානයේ ගිලී සිටියහ. ඔවුහු මත්පැන් පානය කිරීම, සූදු කෙළීම, මංකොල්ල කෑම,  පලිගැනීම වැනි අකුසල්වල නොඅඩු ව යෙදුණහ. ඔවුහු ගස්, ඉර, හඳ, තාරකා, ගින්දර ආදී අල්ලාහ්ගේ මැවීම් වන්දනාමාන කළහ.

ක්‍රමවත් පවුල් දිවියක් හෝ සමාජ ක්‍රමයක් එහි දක්නට නොවී ය. කාන්තාවන්ට ම්ලේච්ඡ ලෙස සලකන ලදි. ජනයා ගෝත්‍ර වශයෙන් බෙදී වෙන්වී සිටියහ. සුළු කාරණාවක් හේතු කොට ගෙන වුව ද එම ගෝත්‍ර අතර සටන් ඇති විය. බහුතර ජනයා ලිවීමට හෝ කියවීමට නොදත් 'උම්මි' වරු වූහ. මෙවැනි ලක්ෂණයන්ගෙන් සමන්විත වූ එදා අරාබියේ සමාජ තත්ත්වය "අයියාමුල් ජාහිලියියා" හෙවත් අඥානයේ යුගය ලෙස නම් කෙරේ.

අයහපත් පරිසරයක් පවැති මක්කාවේ ජීවත් වූ කුඩා මුහම්මද්  කුඩා කල සිට ම යහගුණ පිරි අයෙක් වූයේ ය. කිසිදු කෙනෙකුට හෝ කිසිදු ජීවියෙකුට හෝ වද හිංසා නොකළේ ය. එදා අරාබිවරුන් විසින් කරන ලද පාපී ක්‍රියාවන්, විනෝද ක්‍රියා හා නාස්තිකාරි ක්‍රීඩාවන් යනාදී කිසිවක එතුමා නිරත නොවි ය. පිළිම වන්දනය පිළිකුල් කළ එතුමා අන් අයට ආදර්ශවත්, යහගුණයන් ගෙන් පිරිපුන් ව ජීවත් විය.

මුහම්මද් බොරු කීමෙන් වැළකී සිටියේ ය. ඔහු සැමවිටම සත්‍යය කතා කළේ ය. මෙනිසා ඔහු "අස්සාදික්" "සත්‍යවන්තයා" යන නම් ලද්දේ ය. කිසිවෙකුටත් ද්‍රෝහිකම් නොකළ එතුමා අවංක ව හා විශ්වාසවන්ත ව කටයුතු කළේ ය. මේ

නිසා එතුමාණෝ "අල්අමීන්" "විශ්වාසවන්තයා" යනුවෙන් ද අමතනු ලැබූහ.

## තරුණවිය

තරුණ වියේ දී මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මඩෙහි පිපුණු නෙළුමක් බඳු වූහ. එතුමාණෝ තම වටපිටාව තුළ කිසිවිටෙකත් අලසව කල් නොගෙවූහ. දහවල් කාලය වෙහෙස වී ඉපැයීම් සඳහා ගත කළ එතුමාණෝ රාත්‍රි කාලයේ තම සමාජය පිළිබඳ ව මෙනෙහි කරමින් කාලය ගත කළහ. එතුමා එදා සමාජයේ දක්නට තිබූ වැරදි ක්‍රියාවන්ට යොමු වී නොමග ගියේ නැත. එතුමා සියල්ලන් විසින්ම කරුණාවෙන් හා ගෞරවයෙන් සලකනු ලැබීය.

## හර්බුල් ෆුජ්ජාර් සහ හිල්ෆුල් ෆුලූල් බිහිවීම

අරාබියේ ජනයා ගෝත්‍ර වශයෙන් බෙදී ජීවත් වූහ. මෙම ගෝත්‍රිකයන් අතර තරඟකාරිත්වය, ඊර්ෂ්‍යාව, ක්‍රෝධය, වංචාව යනාදිය පැවතිණි. සුළු කරුණක් මුල්කරගෙන වසර ගණනාවක් තිස්සේ සටන් කළෝ ය. සතුරන් ගෙන් පළිගැනීමේ දී දයානුකම්පාවෙන් තොරව කටයුතු කළෝ ය. මෙලෙස වසර ගණනාවක් ම මක්කාවේ හර්බුල් ෆුජ්ජාර් නම් සටන පැවතිණි. මෙම සටන් නිසා මක්කා වැසියන් ගේ ජන ජීවිතයට හා සම්පත්වලට බලවත් හානි සිදු විය.

මේ පිළිබඳ ව අවබෝධ කරගත් යහපත් ආකල්ප වලින් යුත් නායකයෝ මක්කාව යළි ගොඩනැගීම සඳහා සැළසුම් සකස් කළහ. අර්ථ විරහිත සටන් යළි ඇති නොවීම සහතික කිරීම සඳහා සමාජ ශුභසාධන සැලසුමක් ගොඩ නැගූහ. එය "හිල්ෆුල් ෆුලූල්" යනුවෙන් ඉතිහාසගත විය. අසාධාරණ සටන්වලට සහභාගී වීමෙන් වැළකී සිටි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්



කඃබතුල්ලාවේ ඉපැරණි දර්ශනයක්.

තුමාණෝ සටනින් අනතුරුව ගොඩනැගුණු සමාජ ශුභසාධන සැලසුම්වලට උද්යෝගයෙන් යුතුව සහභාගී වූහ.

## විවාහය

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තම තරුණ වියේ දී වෙළෙඳ කටයුතු වල නිරත විය. විශ්වාසවන්ත සත්‍යවාදී අවංකභාවයෙන් යුත් වෙළෙන්දකු වූ එතුමා කදීජා නමැති කාන්තාවගේ ව්‍යාපාරයේ කොටස්කරුවෙක් වූයේ ය. අවංක ව කටයුතු කළ එතුමා අධික ලෙස ලාභ ලැබී ය. නබිතුමාගේ යහ ගුණාංගයන් ගෙන් ආකර්ෂණය වූ කදීජා තුමිය එතුමා ව විවාහ කර ගැනීමට කැමති වූවා ය. පවුලේ කැමැත්ත ඇතිව විවාහය සිදු කරන ලදී. එවිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ වයස අවුරුදු 25ක් වූ අතර, කදීජා තුමියගේ  වයස අවුරුදු 40ක් විය.

## කඃබා ප්‍රතිසංස්කරණය

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට වයස අවුරුදු 35 දී කඃබා ප්‍රතිසංස්කරණ ක්‍රියාවලිය සිදු විය. එවිට ස්වර්ගයෙන් පහළ වූ හජරුල් අස්වද් ගල තැන්පත් කිරීම සම්බන්ධයෙන්  ගෝත්‍රික නායකයන් අතර මතභේද ඇති විය. නැවතී තිබූ ගෝත්‍රික සටන් නැවත ඇති වේදෝ යි බියක් පැතිරිණි.

එය වළකාගත යුතුය යන පොදු සම්මතයකට කුරෛෂිවරු එළඹූ හ. එනම් කවරෙකු මුලින් කඃබාවට පැමිණේ ද ඔහුගේ අදහසට අනුව කටයුතු කරමු යන පොදු එකඟතාවයට පැමිණියෝ ය. පසුදින සියලු දෙනා බලා සිටි එම පුද්ගලයා කඃබාවට ආවේ ය. ඒ මුහම්මද් නම් තරුණයා ය.

මක්කාවේ අති යහපත්ම පුද්ගලයා පැමිණි බව පවසා ගෝත්‍රික නායකයෝ සතුටින් ඉපිලුණා හ. යුක්ති සහගත අපක්ෂපාතී තීන්දුවක් ලැබෙ යයි විශ්වාස කළහ. ඔවුන් අපේක්ෂා කළ අයුරින් මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තීන්දුවක් ඉදිරිපත් කළහ. එම ගල එක් සළුවක් මත තබා ගෝත්‍රික නායකයින්ට එම සළුවේ කොන්වලින් අල්ලා එසවීමට සැලැස්විය. එලෙස ඔවුන් විසින් ඔසවන ලදී. ගල තැන්පත් කළ යුතු ස්ථානයට පැමිණි විට මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් විසින් සළුව මත තිබූ ගල අදාළ ස්ථානයේ තැන්පත් කරනු ලැබීය. මෙම බුද්ධිමත් තීරණය මක්කා ව නොසන්සුන්තාවයෙන් ආරක්ෂා කළේ ය.

**අභ්‍යාස**

පහත වරහන් තුළ ඇති පිළිතුරු වලින් සුදුසු පිළිතුර තෝරා හිස්තැන් පුරවන්න.

(හලීමා තුමිය, ඇත් වසර, නිෂ්ඵල ක්‍රීඩාවන්, සිරියාව, අබ්දුල් මුත්තලිබ් තුමා, ජාහිලියියා යුගය, හයවන, සටන්)

1. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඉපදී හැදී වැඩුණු එදා අරාබියාවේ සමාජ තත්ත්වය .......................................... යනුවෙන් හඳුන්වනු ලැබේ.
2. සුළු කරුණකට පවා ජාහිලියියා යුගයේ ගෝත්‍ර අතරේ ..................... ඇති විය.
3. කඃබාවට පහර දීම සඳහා පැමිණි අබ්රහා ගේ ඇත් සේනාව විනාශ කළ වර්ෂය .............................. නම් වේ.
4. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට කිරි පොවා රැකවරණය ලබා දුන් ගැමි කාන්තාව ..................................... වන්නීය.
5. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ...................... වියේ දී මව වන ආමිනා තුමිය මරණයට පත් වූවා ය.
6. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ 8වන වියේදී සීයා වූ .......................... මරණයට පත් විය.
7. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තම 12 වන වියේ දී සුළු පියා වූ අබුතාලිබ් තුමා සමග ව්‍යාපාර කටයුතු සඳහා .................... ට ගියේ ය.
8. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තම තරුණ වියේ දී පාප ක්‍රියා, විනෝද ක්‍රියා හා .................................. යනාදියෙහි නිරත නොවී ය.

# 22

# සීරතුර් රසූල් 02

## නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමාගේ මක්කා ජීවිතය

### වහී ප්‍රදානය හා ප්‍රචාරය

මීට ඉහත පාඩමේ දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ උපත, තරුණ වියේ ආදර්ශයන් අධ්‍යයනය කළ අප මෙහි දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට වහී ප්‍රදානය වූ ඉතිහාසයත් ප්‍රචාරයත් පිළිබඳ ව දැන ගනිමු.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තම 40 වන විය ආසන්න වත් ම තම සමාජයේ තත්ත්වය දැක දැඩි ලෙස කනගාටු විය. සමාජය ප්‍රතිසංස්කරණය කිරීම සඳහා දැඩි ලෙස සිතන්නට වූහ. හුදෙකලාව සිටීම ප්‍රිය කළ එතුමා ඒ සඳහා කඃබාවේ සිට සැ. 3ක දුරින් පිහිටි හිරා ගුහාවට ගියේ ය. එහි හුදෙකලාව සිට අල්ලාහ් පිළිබඳ සිතුවිල්ලෙහි හා භාවනාවෙහි නිරත විය.

මෙලෙස වසර 3ක් ගතවිය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට යහපත් සිහින පෙනෙන්නට පටන් ගත්තේ ය. අනතුරු ව රමලානයේ එක් දිනක් රාත්‍රියේ හිරා ගුහාවේ සිටින විට ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා එතුමා ඉදිරියට පැමිණ. "ඉක්රඃ පාරායනය" කරනු යනුවෙන් පැවසීය.

පාරායනය කිරීමට තමන් නොදන්නා බව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පිළිතුරු දුන්හ. එවිට ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා තෙවතාවක් එතුමා ව වැළඳ ගෙන පාරායනයට යොමු කළේ ය. තමන් පාරායනය කිරීමට නොදත් බව එවිට ද පැවසීය. තෙවන වතාවේ දී සූරා අලක් හි මුල් ආයත් පහ ජිබ්රීල් අලෛහිස්සලාම් විසින් පාරායනය කරනු ලැබිණි. නබිතුමාණන් විසින් එය කටපාඩම් කරන ලදී. මෙය නබිතුමාට ප්‍රදානය වූ පළමු වහී මෙය වේ.



මෙම සිද්ධියෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා කම්පාවට පත්වූයේ ය. වෙවුළමින් නිවසට වේගයෙන් ගියේ ය. තමාව පොරවන මෙන් එතුමාණෝ බිරිඳ කදීජා ගෙන් අයැද සිටියහ. බිරිඳ වූ කදීජා රළියල්ලාහු අන්හා තුමිය විසින් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමාව පොරවා සනසන ලදී. හිරාවේ සිදු වූ දේ විමසුවා ය. තමාගේ ඥාතියෙකු ද, ධර්මයන් පිළිබඳ විශාරදයකු ද වන වරකත් ඉබ්නු නව්ෆල් වෙත එතුමා කැඳවා ගෙන ගියා ය. සිදු වූ සියල්ල ඔහුට විස්තර කළා ය. එයට සවන් දුන් වරකත් ඉබ්නු නව්ෆල් මුහම්මද් තුමාට නුබුව්වත් හෙවත් නබිත්වය ලැබී ඇති බවත්, නබි තුමා වෙතට පැමිණියේ ජිබ්රීල් අලෛහිස්සලාම් බවත්, පෙර කලින් වූ නබිවරුන්ට ශුභාරංචි ගෙන ආ මලාඉකාවරයා බවත් විස්තර කළේ ය. මෙය ඇසූ කදීජා රළියල්ලාහු අන්හා තුමිය මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් ව නබිවරයෙකු ලෙස පිළිගත්තාය.

### නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ප්‍රචාරය

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට වහී ප්‍රදානය වීමත් සමග ම එය ප්‍රචාරය කිරීමේ නියෝගය ද ලැබුණි. අනතුරුව එතුමා තම ප්‍රචාරය ආරම්භ කළේ ය. මුලදී එතුමා ඉතා සමීප මිතුරන් හා ඥාතීන්ට ඉස්ලාමීය දූත මෙහෙවර රහසින් දැන්විය. මෙහිදී කාන්තාවන් ගෙන් කදීජා රළියල්ලාහු අන්හා තුමිය ද, පිරිමින්ගෙන් අබූබක්ර් රළියල්ලාහු අන්හු තුමා ද, කුඩා දරුවන්ගෙන් අලි රළියල්ලාහු අන්හු ඇතුළු පිරිසක් ද ප්‍රථමයෙන් ඉස්ලාමය වැළඳ ගත්හ.

නුබුව්වත් ලැබූ ප්‍රථම වසර තුනක කාලය තුළ ප්‍රචාරය රහසිගතව සිදුවිය.

අනතුරුව තම ප්‍රචාරය පුළුල් කළ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ සෆා කන්ද මත නැග ඉස්ලාමයේ පණිවිඩය ප්‍රසිද්ධියේ ජනයා ඉදිරියේ තැබූහ. එදින සිට අබූලහබ් ඇතුළු බොහෝ පිරිසක් නබි තුමාට එරෙහි වීමට පටන් ගත්හ. "අස්සාදික්", "අල්අමීන්" යනුවෙන් ප්‍රශංසා කළ නබිතුමා හට සාත්තර කියන්නා, හූනියම් කරන්නා, කවියා යනුවෙන් වස්කවි කීහ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා යන එන මාවතේ ගල්මුල් දැමූහ. හිස මතට කුණු දැමූහ. සලාතයේ යෙදී සිටි නබි තුමාගේ කරෙහි ඔටුවාගේ නරක් වූ බඩවැල් දැමූහ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට පමණක් නොව ඉස්ලාමය වැළඳ ගත් සහාබාවරුන්ට ද ඔවුහු වද හිංසා කළහ. ඉස්ලාමය අත්හරින ලෙස කියා තර්ජනය කළහ. එනමුත් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා හා සහාබාවරු ඉස්ලාමය අත්හැරියේ නැත. මේ නිසා කෝපයට පත් මක්කා කුරෛෂිවරු නබිතුමා සහ එතුමා ගේ පවුලේ සාමාජිකයන් "ෂිඃබු අබීතාලිබ්" නම් මිටියාවතේ රඳවා තැබූහ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට සැම අතින් ම සහාය දැක්වූ එතුමාගේ බිරිඳ කදීජා රළියල්ලාහු අන්හා තුමිය මරණයට පත් වූයේ මෙම කාල පරිච්ඡේදයේ දී ය. ඉන් පසුව මසක් දෙකක් ගතවෙද්දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට ආරක්ෂාව ලබා දුන් අබූතාලිබ්තුමාත් මරණයට පත් විය. මෙනිසා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අධික ලෙස කනගාටුවට පත් විය. මෙම වසර "ආමුල් හුස්න්" (දුක්ඛිත වසර) නම් වේ.

අඛණ්ඩව තම ප්‍රචාරය දියත් කළ නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණෝ තායිෆ් නගරයට ගියහ. එහි ද එතුමාට ගල්වලින් ගසා වේදනාවට ලක් කෙරුණි. මෙලෙස විවිධ වූ දුක් කම්කටොලු හා වේදනාවන්ට ලක් වූ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට මරණීය තර්ජන ද එල්ල කෙරුණි. අනතුරුව මක්කාවට හජ් ඉටු කිරීම පිණිස පැමිණෙන විදේශිකයින් හමුවේ ඉස්ලාමීය ප්‍රචාරය රහසිගතව ඒත්තු ගැන්වූහ.

මෙම යුගයේ යත්රිබ් වැසියන්ගෙන් (මදීනා වැසියන්) සමහරෙක් ඉස්ලාමය වැළඳ ගත්හ. මොවුන්ගේ ඉල්ලීම හා අල්ලාහ්ගේ නියෝගය මත නබිතුමා සහ සහාභාවරු මදීනාවට හිජ්රත් ගියහ. මෙම සිදුවීම නුබුව්වත් ලැබ් 13 වන වසරේ දී සිදු විය. එතැන් සිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ මක්කා ජීවිතය අවසන් වී මදීනා ජීවිතය ආරම්භ විය.

**අභ්‍යාස**

'අ' කොටසට සුදුසු පිළිතුර 'ආ' කොටසින් තෝරා අදාල අංකය වරහන තුළ ලියන්න.

| | | | |
|---|---|---|---|
| (අ) | 1. | නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් භාවනාවේ යෙදී සිටි ස්ථානය | (   ) |
| | 2. | නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට වහී රැගෙන ආ මලාඉකාවරයා | (   ) |
| | 3. | ඉස්ලාමය වැළඳ ගත් ප්‍රථම කාන්තාව | (   ) |
| | 4. | කදීජා රළියල්ලාහු අන්හා තුමිය ගේ ඥාතියකු හා කලින් වූ ආගම් පිළිබඳ විශාරදයා | (   ) |
| | 5. | නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ප්‍රසිද්ධියේ ඉස්ලාමය ප්‍රචාරය කළ ස්ථානය | (   ) |
| (ආ) | 1. | ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා | |
| | 2. | වරකත් බින් නව්ෆල් | |
| | 3. | සෆා | |
| | 4. | හිරා | |
| | 5. | කදීජා රළියල්ලාහු අන්හා තුමිය. | |

# 23

# උම්මහාතුල් මුඃමිනීන්වරු හඳුනාගනිමු

"නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ බිරින්ඳෑවරුන් මුඃමින්වරුන් ගේ මව්වරු වේ" යනුවෙන් අල් කුර්ආනය පවසන්නේ ය. 'උම්මහාතුල් මුඃමිනීන්' යන්නෙහි අර්ථය "විශ්වාසවන්තයන් ගේ මව්වරුන්" නම් වේ. සහාබා කාන්තාවන් අතරින් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ බිරින්ඳෑවරුන්ට මෙම විශේෂිත නම පිරිණමා තිබේ. පහත සඳහන් වන්නේ උම්මහාතුල් මුඃමිනීන් වන නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ බිරිඳන්ය.

1. කදීජා රලියල්ලාහු අන්හා
2. සවුදා රලියල්ලාහු අන්හා
3. ආයිෂා රලියල්ලාහු අන්හා
4. හෆ්සා රලියල්ලාහු අන්හා
5. සෙයිනබ් බින්තු කුසෙමා රලියල්ලාහු අන්හා
6. උම්මු සලමා රලියල්ලාහු අන්හා
7. උම්මු හබීබා රලියල්ලාහු අන්හා (රම්ලා)
8. ජුවයිරියා රලියල්ලාහු අන්හා
9. සෙයිනබ් බින්තු ජහ්ෂ් රලියල්ලාහු අන්හා
10. සෆියියා රලියල්ලාහු අන්හා
11. මයිමූනා රලියල්ලාහු අන්හා




## කදීජා රලියල්ලාහු අන්හා තුමිය

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ගේ ප්‍රථම බිරිඳ කදීජා රළියල්ලාහු අන්හා තුමිය වේ. ඇය මක්කාවේ කුරෛෂි ගෝත්‍රයට අයත් වන්නී ය. ඇයගේ පියා කුවෛලිද් ය.

කදීජා රළියල්ලාහු අන්හා තුමිය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා විවාහ කර ගැනීමට පෙර වෙනත් විවාහ දෙකක් කර තිබිණි. අබුහාලා සහ අතීක් යන එම සැමියන් දෙදෙනා කෙනෙකුට පසු අනෙකා වශයෙන් මරණයට පත් වූහ. අනතුරුව කදීජා රළියල්ලාහු අන්හා තුමිය වැන්දඹුවක් ලෙස තම ජීවිතය ගත කළාය. සැමියා ගේ ව්‍යාපාරය පිළිබඳව අවධානය යොමු කළ කදීජා තුමියට වෙළෙඳ කටයුතු පවත්වා ගෙන යාම සඳහා විශ්වාසවන්ත කෙනෙකු අවශ්‍ය විය. 'අල් අමීන්' (විශ්වාසවන්තයා) යනුවෙන් සැමගේ ප්‍රශංසාවට ලක් වූ මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වඩාත් සුදුස්සා බව දැනගත්තා ය. තම වෙළෙඳ භාණ්ඩ ෂාම් (සිරියා) දේශයට රැගෙන ගොස් වෙළෙඳාම් කිරීමේ වගකීම මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වෙත පැවරුවාය. එතුමා විශ්වාසවන්තව හා සත්‍යවාදී ලෙස වෙළෙඳාම් කර අධික ලාභ ලබා නැවත පැමිණියේ ය.

කදීජා රළියල්ලාහු අන්හා තුමිය සදාචාර සම්පන්න, යහගුණ හා රූමත් බවින් යුත්, උසස් ගුණාංගයන්ගෙන් මෙන් ම සැමට උපකාර කිරීමේ මානසිකත්වයෙන් යුක්ත කාන්තාවක් වූවාය. බොහෝ කුරෛෂි නායකයෝ වැන්දඹුවක වූ කදීජා රළියල්ලාහු අන්හා තුමියව විවාහ කර ගැනීමට කැමැත්ත ප්‍රකාශ කළහ. නමුත් එතුමිය ඒ කිසිවකුටත් කැමැති නොවූවා ය. නමුත් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ යහ ගුණාංගයන් ගෙන් ආකර්ෂණය වී එතුමාණන් විවාහ කර ගැනීමට කැමැති වූවා ය. පසුව විවාහය පිළිබඳ කතිකාවක් සිදු විය. පවුල් දෙකේ එකඟතාවය මත විවාහය සිදු විය. එවිට කදීජා රළියල්ලාහු අන්හා තුමියගේ වයස අවුරුදු 40ක් විය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා හා කදීජා රළියල්ලාහු අන්හා තුමිය වසර 25ක් පමණ පවුල් දිවිය ගත කළහ. ඔවුහු දරුවන් 6 දෙනකු බිහි කළහ. ඉන් 4 දෙනෙකු ගැහැනු දරුවන් වූ අතර දෙදෙනකු පිරිමි දරුවන් වූහ.

| | |
|---|---|
| ගැහැනු දරුවන් | සෙයිනබ් රළියල්ලාහු අන්හා තුමිය |
| | රුකෙයා රළියල්ලාහු අන්හා තුමිය |
| | උම්මුකුල්සුම් රළියල්ලාහු අන්හා තුමිය |
| | ෆාතිමා රළියල්ලාහු අන්හා තුමිය |
| පිරිමි දරුවන් | කාසිම් |
| | අබ්දුල්ලා |

පිරිමි දරුවන් දෙදෙනා කුඩා වියේදී ම මරණයට පත් වූහ. ෆාතිමා රළියල්ලාහු අන්හා තුමිය හැර අනිකුත් ගැහැනු දරුවන් තිදෙනා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ මරණයට පෙර ම මරණයට පත්වූහ.

කදීජා රළියල්ලාහු අන්හා තුමිය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට යහපත් බිරිඳක් ලෙසත් ලෙන්ගතු සහායිකාවක් ලෙසත් ජීවත් විය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ජීවිතයේ වැදගත් අවස්ථාවල ප්‍රධාන අනුශාසක ලෙසත් සහායිකාව ලෙසත් මෙතුමිය ක්‍රියා කළා ය. ඉස්ලාමයේ වර්ධනය වෙනුවෙන් තම ධන සම්පත් කැප කළා ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් හිරා ගුහාවේ සිටින විට අවශ්‍ය ආහාර පාන සැපයුවාය.

නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාණන්ට වහී ලැබුණු අවස්ථාවේ දී බියට පත් වී තැතිගෙන නිවසට පැමිණි විට ආදරයෙන් වැළඳගෙන සැනසුම් වදන් පවසා එතුමා සැනසුවා ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට ප්‍රදනය වු දූතභාවයත් ඉස්ලාම් ධර්මයත් සැකයකින් තොරව මුලින් ම පිළිගත්තා ය.

කුරෛෂි කාෆිර්වරුන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට හා සහාබාවරුන්ට වද හිංසා දුන්විට එතුමා සනසා උපකාර කළා ය. ෂිඃබු අබූතාලිබ් කඳුවැටියේ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා හා පවුලේ උදවිය රඳවා තබා වේදනා දුන් අවස්ථාවේ දී කදීජා රළියල්ලාහු අන්හා තුමිය තුමිය ද එහි සිටියා ය.

මෙලෙස යහපත් බිරිදක් ලෙස නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් සමග ජීවත් වී ඉස්ලාමය වෙනුවෙන් තමන්ව කැප කළ කදීජා රළියල්ලාහු අන්හා තුමිය නුබුව්වත් 10 වන වසරේ මරණයට පත් වූවා ය. එවිට එතුමියගේ වයස අවුරුදු 65 කි. එතුමිය මරණයට පත් වර්ෂය "ආමුල් හුස්න්" දුක් වසර යනුවෙන් අමතන ලදී. "තාහිරා" නමැති විශේෂ නමක් ද සහිත කදීජා රළියල්ලාහු අන්හා තුමියගේ ආදර්ශයන් පිළිපැදීමට උත්සාහ කරමු.

### ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය

ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය, අබූබක්කර් සිද්දීක් රළියල්ලාහු අන්හු තුමාගේ බාල දියණිය වේ. ඇයගේ මව උම්මු රූමාන් රළියල්ලාහු අන්හා තුමිය වේ. නුබුව්වත් දෙවන වසරේ ඇය ඉපදුණාය. අබුබක්ර් සිද්දීක් රළියල්ලාහු අන්හු තුමාත්, නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාත් ගජමිතුරෝ වූහ. දෙදෙනා ම සහෝදරයන් සේ ජීවත් වූහ. අබුබක්කර් රළියල්ලාහු අන්හු තුමා, නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට දැඩි ලෙස ආදරය දැක්වූයේ ය.

නුබුව්වත් 10වන වසරේ ෂව්වාල් මස නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය විවාහ කර ගත්හ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් විවාහ කරගත් එකම කන්‍යාව වුයේ මැය පමණි. ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය බිය බැතිකමින් යුක්ත වූවා. ඇය අධික ලෙස සවුමයේ යෙදෙන්නී ය. දන් දීමට ඉදිරිපත් වූවා ය. ඉතා නුවණක්කාර තැනැත්තියකි. දැනුමෙන් හා ඥානයෙන් අගතැන්පත් වූ මෙතුමිය කාන්තාවන් අතරින් වැඩිම හදීස් ගණනක් දැනුම් දුන් තැනැත්තිය ද වන්නී ය. සහාබාවරුන්ට මතුවූ ආගමික ගැටළුවලට විසඳුම් ලබා දුන්නා ය. කාන්තාවන් සම්බන්ධ

අනේක විද කරුණු නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගෙන් විමසා ඔවුනට පැහැදිලි කර දුන්නා ය.

"අස්සිද්දීකා", "හුමෙයිරා" යන සුවිශේෂී නාමයන් ඇයට හිමි විය. කඩිසරබව, විරත්වය, ඉවසීම. යනාදී යහගුණයන් ඇය තුළ දක්නට ලැබිණි. සමාජ සේවය කිරීමට ඉතා ප්‍රිය කළාය. උහද් සටනේ දී තුවාල වූවන්ට බීමට ජලය සපයා උපකාර කළා ය. බොහෝ වහලුන් මිලයට ගෙන ඔවුන්ට නිදහස ලබා දුන්නා ය.

ආයිෂා රළියල්ලාහු අන්හා තුමියගේ නිවසේ සිටිය දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ වෆාත් වූහ. මෙලෙස බොහෝ සුවිශේෂත්වයන් ගෙන් හෙබි ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය හිජ්රි 58 දී තම 68 වන වියේ දී වෆාත් වූවාය.

**අභ්‍යාස**

කෙටි පිළිතුරු සපයන්න.

1. උම්මහාතුල් මුඃමිනීන් යනු කවුරුන් ද?
2. කදීජා රළියල්ලාහු අන්හා තුමියගේ පියාගේ නම කුමක් ද?
3. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා විවාහ කර ගන්නා විට කදීජා රළියල්ලාහු අන්හා තුමියගේ වයස අවුරුදු කීය ද?
4. කදීජා රළියල්ලාහු අන්හා තුමිය ඉස්ලාමයේ වර්ධනය වෙනුවෙන් කළ කාර්යයන් දෙකක් ලියන්න.
5. ආයිෂා රළියල්ලාහු අන්හා තුමියගේ පියා කවුද?
6. ආයිෂා රළියල්ලාහු අන්හා තුමියගේ සුවිශේෂී නාමයන් දෙකක් ලියන්න.
7. ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය ඉස්ලාමයේ වර්ධනය වෙනුවෙන් කළ කාර්යයන් දෙකක් ලියන්න.
8. ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය වෆාත් වුයේ හිජ්රි කීවන වසරේ දී ද?

# 24

## නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ

# උතුම් වූ අනුගාමිකයෝ

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ව තම ජීවිත කාලයේ ඍජුව දුටු මුස්ලිවරුන් සහාබාවරුන් ලෙස හැඳින්වේ. මොවුහු නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් හා සමීපව සිටිමින් ඉස්ලාමයේ වර්ධනය වෙනුවෙන් තම ප්‍රාණය, සිරුර, ධනය, ශක්තිය, කාලය, දැනුම, සැපත යනාදී සියල්ල කැප කළ පුද්ගලයෝ ය. ඔවුන් සියලු දෙනාම අල්ලාහ්ගේ තෘප්තියට පාත්‍ර වූයේ මේ නිසා ය. මේ පිළිබඳව අල්ලාහ් අල් කුර්ආනයේ මෙසේ පවසයි.

"අල්ලාහ් ඔවුන් හා තෘප්තිමත් වූයේ ය. ඔවුන් ද අල්ලාහ් සමග තෘප්තිමත් වූහ."(98:8)

එබැවින් සහාබාවරුන්ගේ නම් උච්ඡාරණය කරනවිට "රලියල්ලාහු අන්හු" යනුවෙන් අපි පවසන්නෙමු. මෙහි අර්ථය "අල්ලාහ් ඔවුන් හා තෘප්තිමත් වූයේ ය" යන්න වේ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් "යුගයන්ගෙන් ශ්‍රේෂ්ඨ වන්නේ මමත් සහාබාවරුනුත් ජීවත් වන්නා වූ යුගයයි" යනුවෙන් ප්‍රශංසා කොට ඇත. මෙම හදීසය සහාබාවරුන්ගේ ශ්‍රේෂ්ඨත්වයට වැදගත් සාක්ෂියකි.

සමහර සහාබාවරුන් පිළිබඳ ව කෙටියෙන් දැනගනිමු.

### සෙයිද් බින් සාබිත් රළියල්ලාහු අන්හු තුමා

බද්ර් සටන වෙනුවෙන් මදීනාවේ කැඳවීම් කෙරුණි. කුඩා ළමයෙක් ද එතැනට පැමිණියේ ය. කුඩා දරුවන් සටන් කිරීම අනුමත නොකරන බවට දැන්වීමක් කෙරිණි. මේ නිසා බලාපොරොත්තු සුන් වූ එම කුඩා දරුවා තම මව වෙත හැරී ගියේ ය. තම දරුවාගේ දුක වටහාගත් මව, අල් කුර්ආනයේ සූරාවන්

(පාඩම්) කටපාඩම් කර නබිතුමා වෙත ඉදිරිපත් කරන ලෙස පැවසුවා ය.

සටන නිමා වී පැමිණි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට එම කුඩා දරුවා කටපාඩම් කළ කරුණු පිළිගන්වන ලදී. එවිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සටනේ දී සිරගෙයට ගත් සිරකරුවකු වෙත මෙම කුඩා දරුවා යවා ලිවිම හා කියවීම කෙරෙහි යොමු කළේය. කෙටි කලකින් ඉගෙනුම හමාර කළ එම කුඩා දරුවා පසු කාලයේ නබිතුමාගේ ඉල්ලීමට අනුව අබරානි හා සුර්යානි භාෂාවන් ද උගත්තේ ය.

පසු කාලයේ ඉස්ලාමයේ වර්ධනයට ඉමහත් කාර්යභාරයක් ඉටු කළ එම කුඩා දරුවා සයිද් බින් සාබිත් රළියල්ලාහු අන්හු තුමාය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා හා සමීපව ජීවත් වූ වැදගත් සහාබාවරුන්ගෙන් කෙනෙකු ලෙස සයිද් බින් සාබිත් රළියල්ලාහු අන්හු තුමා කටයුතු කළේ ය. අරාබිකරයේ එදා විසූ ලිවීමට හා කියවීමට දත් අය අතර මොහු ද කෙනෙකි. අල් කුර්ආනය ඉතා හොඳින් පාරායනය කිරීමට දත් මොහු ඉතා ශ්‍රේෂ්ඨ බුද්ධිමතෙකු ද වන්නේ ය.

අල් කුර්ආනය ආරක්ෂා කිරීම, එය කටපාඩම් කිරීම, පිටපත් කර සුරැකීම යනාදිය උදෙසා ඉමහත් දයකත්වයක් දැක්විය. රමලාන් මාසයේ ජිබ්රීල් අලෛහිස්සලාම් විසින් අල් කුර්ආනය නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාට පාරායනය කර පෙන්වන විට එතුමාණන් සමග සිට එයට සවන් දුන්නේ ය. අබුබක්ර් රළියල්ලාහු අන්හු තුමාගේ කාලයේ අල් කුර්ආනය එක්රැස් කිරීමට උරදුන් මොහු, උස්මාන් රළියල්ලාහු අන්හු තුමාගේ කාලයේ අල් කුර්ආනය පිටපත් කිරීමට ද දායක විය.

### සල්මාන් ෆාරිසි රළියල්ලාහු අන්හු තුමා

සල්මාන් ෆාරිසි රළියල්ලාහු අන්හු තුමා සහාබාවරුන් අතර ඉතා වැදගත් සහාබිවරයකි. නමින් සල්මාන් වූ ඔහු පර්සියාවට අයත් කෙනෙකි. මෙනිසා එතුමා සල්මානුල් ෆාරිසි යනුවෙන් අමතන ලදී. මොහු ගින්න නමස්කාර කරන "මජූසි" පවුලක ඉපදුණේ ය.

ගින්න නමස්කාර කරන දහම සත්‍යයෙන් තොර වූවක් බව සල්මාන්ට හැඟී ගියේ කුඩා කල සිටම ය. සත්‍ය දහම සොයාගැනීමේ අපේක්ෂාව එතුමාට ඇති වුයේ මේ නිසා ය. කිතුනු දහම පිළිබඳව දැනගැනීම සඳහා එතුමා මුලින් ම සිරියාවට ගියේ ය. අරාබි දේශයෙහි නබි කෙනෙකු එවනු ලබන ප්‍රවෘත්තිය හා

ඔහුගේ ගුණාංගයන් පිළිබඳ ව එහි සිටි ක්‍රිස්තු පූජකවරයකු මගින් දැනගත්තේ ය. එතුමාව හමුවීමේ අපේක්ෂාව ඔහු තුළ ලැගුම් ගත්තේ ය.

වෙළෙඳ කණ්ඩායමක් සමග සිරියාවේ සිට අරාබි දේශයට ගමන් කළේ ඉන් අනතුරුව ය. එලෙස ගමන් කරද්දී එම වෙළෙඳ කණ්ඩායම විසින් යුදෙව්වෙකුට ඔහු විකුණා දමනු ලැබුවේ, වහලකු ලෙස ය. දින කිහිපයකට පසුව එම යුදෙව්වාගේ සුළු පියාගේ පුතා විසින් ඔහුව මිල දී ගෙන මදීනාවට රැගෙන යන ලදී. මදීනාවේ රසූල් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සිටින බව දැන ගත් එතුමා බැහැදැකීමට ඇලුම් කළේ ය. නබි තුමාණන් හමු වූ විට, එතුමා ළඟ තිබූ නුබුව්වතයේ (නබිත්වයේ) සලකුණු දැන ගත්තේය. අල්ලාහ්ගේ අවසාන දූතයා මොහු බව මෙතුමා නියත වශයෙන් ම වටහා ගත්තේ ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ දෑත තදින් අල්ලා ඉස්ලාමය වැළඳ ගත්තේ ඉන් අනතුරුව ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ එම යුදෙව්වාට නියමිත මුදල ගෙවා වහල් භාවයෙන් ඔහුව මුදවා ගත්හ.

මෙතුමා දුගී ජීවිතයක් ගත කළේ ය. දුගී බව අගය කළේ ය. තමාට යයි පැල්පතක්වත් තබා නොගත්තේ ය. තම දෑතින් ම උපයා අනුභව කළේ ය. ඉන් කොටසක් දන් දුන්නේ ය. පසු කාලිනව "මදායින්" ප්‍රදේශයේ "අමීර්" හෙවත් ආණ්ඩුකාරවරයා ලෙස පත් කළ ද තම දුගී බව අත්හැරියේ නැත. ඉස්ලාමය වෙනුවෙන් මෙතුමා විවිධ සේවාවන් ඉටු කළේ ය. අගල් සටනේ දී අගල් හෑරීම යෝජනා කළේ ද මොහු ය. මොහු නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ විවිධ හදීසයන් ඉගෙන ඒවා දැනුම් දී ඇත්තේ ය. මෙලෙස ඉස්ලාමය වෙනුවෙන් ශ්‍රේෂ්ඨ කර්තව්‍යයක් ඉටුකළ සල්මානුල් ෆාරිසි රළියල්ලාහු අන්හු තුමා හිජ්රි 35 වන වසරේ මදායින් නගරයේ දී වෆාත් විය.

**අභ්‍යාස**

1. සහාබාවරු යනු කවුරුන්ද?
2. "ශ්‍රේෂ්ඨ කාලය" යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සඳහන් කළ කාල වකවානුව කුමක්ද?
3. සෙයිද් බින් සාබිත් රළියල්ලාහු අන්හු තුමා හැදෑරූ භාෂා දෙක කවරේද?
4. සෙයිද් බින් සාබිත් රළියල්ලාහු අන්හු තුමා ඉටුකළ කාර්යයන් 2ක් සඳහන් කරන්න.
5. සල්මානුල් ෆාරිසි රළියල්ලාහු අන්හු තුමා කුමන දේශයට අයත් කෙනෙක් ද?
6. සල්මානුල් ෆාරිසි රළියල්ලාහු අන්හු තුමාගේ ගුණාංගයන් දෙකක් දක්වන්න.

# 25

# අහ්ලුල් බයිත්වරු හඳුනාගනිමු

**නබි සල්ලල්ලාහු අලයිහි වසල්ලම් තුමාගේ පවුලේ උදවිය අහ්ලුල් බයිත් යනුවෙන් හඳුන්නු ලැබේ.**

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ දුව වන ෆාතිමා රළියල්ලාහු අන්හා තුමිය, නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ බෑනා හා ඥාති සහෝදරයෙකු වන අලි රළියල්ලාහු අන්හු තුමා, සුළු පියවරුන් වන හම්සා රළියල්ලාහු අන්හු තුමා, අබ්බාස් රළියල්ලාහු අන්හු තුමා, මුනුබුරන් වන හසන් හුසෙයින් රලියල්ලාහු අන්හුමා යනාදීහු අහ්ලුල් බයිත් සනයට අයත්වෙති.

මොවුන්ගේ විශේෂත්වයත්, ඉස්ලාමය වෙනුවෙන් ඉටු කළ කාර්යභාරයත් වටහාගත යුතු ය. එසේම ඔවුන්ගේ ආදර්ශයන් පිළිපැදිය යුතු අතර ඔවුන්ට ස්නේහය කිරීමද අනිවාර්ය වේ.

## ෆාතිමා රළියල්ලාහු අන්හා තුමිය

මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට හා කදීජා රළියල්ලාහු අන්හා තුමියට දාව නුබුවතයට වසර 5කට පෙර මක්කාවේ මෙතුමිය ඉපදුණා ය. හිජ්රි දෙවන වසරේ අලි රළියල්ලාහු අන්හු තුමා මෙතුමිය විවාහ කරගත්තේ ය. මෙතුමියට දාව හසන්, හුසෙයින් නමැති පිරිමි දරුවන් ද ගැහැනු දරුවන් තිදෙනෙක් ද උපන්නෝ ය. ෆාතිමා රළියල්ලාහු අන්හා තුමිය ඉස්ලාමය ශීලවන්ත ලෙස අනුගමනය කළා ය. දැඩි දුක්ඛිත තත්ත්වයේ දී ත් මෙතුමිය ඉවසීමෙන් කටයුතු කළා ය. ආගන්තුකයින්ට කැමැත්තෙන්ම සංග්‍රහ කළා ය. තමන් සතු දෑ දන් දුන්නා ය. දිනක් තමන් සතුව තිබූ පොරොවනයක් යුදෙව්වෙකුට විකුණුවා ය. එම අවස්ථාවේ පැමිණි යාචකයකුට එම මුදල ද දන් දුන්නා ය.

දිනක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ කෑබාවේ සලාතයේ යෙදී සිටියහ. එවිට කුරෛෂි කාෆිර්වරුන්ගෙන් සමහරෙක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ශරීරයේ ඔටු බඩවැල් දැමූ හ. හිස එසවීමට නොහැකි ව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ සුජූදයේ ම සිටියහ. එම අවස්ථාවේ එතැනට පැමිණි දුව ෆාතිමා රළියල්ලාහු අන්හා තම දෑතින් ම ඒවා ඉවත් කළා ය.

සලාතයේ යෙදීමෙහිත්, සවුම් රැකීමෙහිත් වැඩි කාලයක් ගත කළා ය. කරුණාව දයාව, ලැදියාව, මෙන් ම පරිත්‍යාගය මෙතුමිය වෙත දක්නට ලැබිණි. උඩඟුබව අත්හැර දුගී බව ප්‍රිය කළා ය.

ෆාතිමා රළියල්ලාහු අන්හා තුමිය කෙරෙහි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ අධික ලෙස ආදරය දැක්වූහ. 'සමස්ත ලෝක කාන්තාවන්ගේ නායිකාව' වශයෙනුත් 'ස්වර්ගවාසී කාන්තාවන්ගේ නායිකාව' ලෙසිනුත් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මෙතුමිය වර්ණනා කළහ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් වෆාත්වී මාස 6කට පසුව එනම් තම 28 වන වියේ ෆාතිමා රළියල්ලාහු අන්හා තුමිය මදීනාවේ දී වෆාත් වූවා ය.

**අභ්‍යාස**

කෙටි පිළිතුරු සපයන්න.

1. අහ්ලුල් බයිත්වරු කවුරුන් ද?
2. ෆාතිමා රළියල්ලාහු අන්හා තුමිය ඉපදුණේ කවදා ද?
3. ෆාතිමා රළියල්ලාහු අන්හා තුමියගේ සුවිශේෂි ගුණාංගයන් 3ක් ලියන්න.
4. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් විසින් ෆාතිමා රළියල්ලාහු අන්හා තුමිය ප්‍රශංසා කරනු ලැබුවේ කෙසේද?
5. ෆාතිමා රළියල්ලාහු අන්හා තුමිය වෆාත් වන විට එතුමියගේ වයස අවුරුදු කීයද?

# 26

# ආදම් අලෛහිස්සලාම් තුමා

ලොව පළමු මිනිසා ආදම් අලෛහිස්සලාම් තුමා ය. එතුමා "අබුල් බෂර්" (මිනිස් සංගතිගේ පියා) කියා ද හඳුන්වනු ලබයි.

අල්ලාහ් ආදම් අලෛහිස්සලාම් තුමා මැව්වේ පසෙනි. ඒ සඳහා පොළොවේ සියලු ප්‍රදේශවලින් ම පස් ලබා ගන්නා ලදී. එම නිසා පසේ පාට හා ස්වභාවය අනුව සමහරු සුදු පාටින් ද තවත් සමහරු කළු පාටින් ද තවත් සමහරු රතුපාටින් ද අනෙක් අය අතර මැද පාටින් ද දක්නට ලැබති. මිනිසුන්ගෙන් සමහරුන් මෘදු අය ද තවත් සමහරු රළු අය ද අනෙක් අය අතරමැදි ස්වභාවයෙන් ද යුක්ත වීමට හේතුව ද එය ම වන්නේ යැයි හදීස් අහමද් හි සඳහන් වන්නේ ය.

අල්ලාහ් ආදම් අලෛහිස්සලාම් තුමා මැවීමට පෙර මලක්වරුන් ආලෝකයෙන් ද ජින්වරුන් ගින්නෙන් ද මැව්වේ ය. ආදම් අලෛහිස්සලාම් මැවීමට කලින් ම පොළොවේ තම නියෝජිතයා මවන්නට යන බව අල්ලාහ් මලක්වරුන්ට දැන් වූයේ ය.

"පොළොව මත කල කෝලාහල ඇති කර ලේ සලන අය ඇයි ඔබ මවන්නට යන්නේ?" යැයි කියා මලක්වරු තම අප්‍රසාදය පළ කළහ. එයට "ඔබ නොදන්නා දේ මම දනිමි" යි මලක්වරුන්ට පිළිතුරු දුන් අල්ලාහ්, මිනිස් වර්ගයාගේ පියා වූ ආදම් අලෛහිස්සලාම් තුමාව මැව්වේ ය.

අල්ලාහ් ආදම් අලෛහිස්සලාම් තුමාට සියලු මැවීම්වල නම් ඉගැන්වූයේ ය. පසුව, මලක්වරුන් කැඳවූයේ ය. එම මැවීම්වල නම් කියන ලෙස කීය. ඔවුහු "අපි නුඹ පාරිශුද්ධ කරන්නෙමු. නුඹ ඉගැන්වූ දේ හැර අන් කිසිවක් අපි නොදනිමු" යැයි පිළිතුරු දුන්හ. පසුව අල්ලාහ්ගේ නියෝගයට අනුව ආදම් අලෛහිස්සලාම් තුමා එම මැවීම් වල නම් කීවේ ය.

එයත් සමග අල්ලාහ් මලක්වරුන් අමතා ආදම් අලයිහිස්සලාම් ට සුජූද් කරන ලෙස අණ කළේ ය. එහෙත් එහි සිටි ජින් වර්ගයට අයත් ඉබ්ලීස් සුජූද් කිරීම ප්‍රතික්ෂේප කළේ ය.

"මම ආදම්ට වඩා ශ්‍රේෂ්ඨ වෙමි. ආදම් පසෙන් මවනු ලැබුවෙකි. මම ගින්නෙන් මවනු ලැබූ අයෙකි" යැයි හේතු දක්වා ඔහු තම ක්‍රියාව සාධාරණීකරනය කළේ ය. අල්ලාහ් ගේ නියෝගයට කීකරු නොවූ නිසා ඔහු අල්ලාහ්ගේ සාපයට ලක් වූයේ ය.

ඉබ්ලීස් තමා සාපයට පත්වීමට හේතු වූ ආදම් අලෛහිස්සලාම් තුමා නොමග යැවීමට අධිෂ්ඨාන කරගත්තේ ය.

ආදම් අලෛහිස්සලාම් තුමා, තම බිරිඳ හව්වා අලෛහස්සලාම් සමග ස්වර්ගයේ ජීවත් විය. එහි දී ස්වර්ගයේ සැප සම්පත් භුක්ති විඳීමට අවසර ලැබී තිබුණි. ඒත් ඔවුහු එක්තරා ගසක් ළඟට යෑම තහනම් කරනු ලැබුවා. ඉබ්ලීස් මෙම අවස්ථාව ප්‍රයෝජනයට ගන්නට හිතුවා. එම ගසේ ගෙඩි කෑවේ නම් ස්වර්ගයේ සදාකාලිකව ජීවත් විය හැකි යැයි ඔවුන් පොළඹ වූවේය. ඔහුගේ එම මායා බසට රැවටුණු ඔවුන් දෙන්නා සත්‍යය අමතක කර එම ගසේ ගෙඩි කන්නට වුණා. ඒ නිසා අල්ලාහ්ගේ දැඩි කෝපයට ලක් වුණා.

අල්ලාහ් ඒ දෙදෙනා මෙලොවට පහළ කළා. අඹු - සැමි දෙදෙනා ප්‍රදේශයන් දෙකකට වී සිටියහ. ඔවුන් දෙදෙනා තමන්ගේ වරද ගැන සිතා පසුතැවිලි වෙමින් දීර්ඝ කාලයක් තිස්සේ අඬන්නට වුණා. තමන්ට සමාව දෙන ලෙස අයැදිමින් පසුවුණා.

"අපගේ හිමියනි! අප කළ දේ අපට ම හානිකර වුණා. ඔබ අපට සමාව නො දුන්නේ නම් අනිවාර්යයෙන් ම අපි අභාග්‍යවන්තයෝ වන්නෙමු" (7:23) යැයි ප්‍රාර්ථනා කළෝ ය.

අල්ලාහ් ඔවුනට සමාව දුන්නේ ය. දෙදෙනා ම එක් ස්ථානයක හමුවන්නට සැලැස්වූයේ ය. ඔවුහු පවුලක් ලෙස ජීවත් වූහ. ඔවුන්ට ජීවත් වීමට අවශ්‍ය පහසුකම් අල්ලාහ් ඇති කර දුන්නේ ය.

ඔවුන්ගෙන් මිනිස් වර්ගයා ඇති විය. ඔවුහු පිරිමි හා ගැහැනු වශයෙන් නිවුන් දරුවන් ලදහ. අද ලොව ජීවත් වන්නේ ඔවුන්ගෙන් ලද පරපුර ය.

"හිරු උදා වන දවස් අතුරින් උතුම් ම දවස සිකුරාදා දවස වන්නේ ය. ආදම් අලෛහිස්සලාම් තුමා මවනු ලැබුවේ එම දවසේ ය. ඔවුන් ස්වර්ගයේ නවාතැන්

දෙනු ලැබූවේ ද ඔවුන් ස්වර්ගයෙන් පිටමං කරනු ලැබූවේ ද එම දවසේ ය. ඔවුන් අභාවප්‍රාප්ත වූයේ ද එම දවසේ ය." යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වදාරා ඇත්තාහ. (මුස්ලිම්)

එතුමාගේ අභාවයෙන් පසුව එතුමාගේ පුත් ෂීද් අලෛහිස්සලාම් තුමා නබිත් වයට පත් විය. මිනිසුනට යහමග පෙන් වීය. එතුමන්ට සුහුෆ් ලබා දෙන ලදී.

**අභ්‍යාසය**

1. කෙටි පිළිතුරු සපයන්න

(අ) ආදම් අලෛහිස්සලාම් මවනු ලැබුවේ කුමකින් ද?

(ආ) එතුමාගේ බිරිඳගේ නම කුමක් ද?

2. ආදම් අලෛහිස්සලාම් තුමා (මිනිස් වර්ගයා) ගැන මලක්වරු අල්ලාහ් ට කී අදහස සඳහන් කරන්න

3. ඉබ්ලීස් ආදම් අලෛහිස්සලාම් තුමාට සුජූද් කිරීම ප්‍රතික්ෂේප කළේ ඇයි?

4. ආදම් අලෛහිස්සලාම් තුමා සහ සිකුරාදා දවස අතර ඇති සම්බන්ධතාවය කුමක් ද?

5. මිනිසා හා ජින් අතර පවතින වෙනස්කම් දෙකක් සඳහන් කරන්න.

# 27

# අසල් වැසියන් සමඟ යහපත් ඇසුර රැක ගනිමු

අප ජීවත් වන නගරයේ හෝ ගමේ ජනපද බොහොමයක් දක්නට ලැබෙනවා. එවායේ විවිධ ජාතීන්ට අයත් ජනතාව ජීවත් වෙනවා. අපේ නිවස ඉදිරියෙන් හා පසුපසින් ද දකුණෙන් හා වමෙන් ද නිවෙස් රාශියක් දක්නට ලැබෙනවා. සමහරක් නිවෙස් ළඟින් ද, තවත් සමහරක් ඈතින් ද පිහිටනවා. මෙම නිවෙස්වල පදිංචි සෑම කෙනකු ම තවත් කෙනකුට අසල්වැසියකු වෙනවා. අසල්වැසියන්ව අල්ලපු ගෙදර අය, යාබද වෙසෙන අය යනාදී වශයෙන් විවිධ නම්වලිනුත් හඳුන්වනවා.

හදිසි අනතුරක් හෝ උවමනාවක් ඇති වුණුවෙලේ මුලින් ම උදව්වට එන්නේ අපේ අසල්වැසි අයයි. දුර ඉන්න නෑදෑයින් යහළුවන් ආදීන්ට වහාම උදව්වට ඒමට නොහැකි ය. ඔවුන් පමා වී පැමිණෙති. එම නිසා අසල් වැසියන් සමග අපගේ යහපත් බව පවත්වා ගත යුතු ය. සුළු කාරණාවක් බරපතල නොකළ යුතු අතර ඒ වෙනුවෙන් අමනාප නොවිය යුතුයි. රණ්ඩු දබර කර ගැනීමෙන් හෝ ආරවුල් ඇති කර ගැනීමෙන් වැළකිය යුතුය. සමහර දේවලට සමාව දී ඒවා අමතක කර දැමිය යුතු ය. ඒ අය සමග සහයෝගයෙන් ජීවත් විය යුතුය. මුඃමින්වරුන්ගේ ගුණාංගය වන්නේ එයයි.

අසල්වැසියෝ තුන් ආකාරයක් වෙති. එනම්,

1. ඥාතීන් වන අසල් වාසීහු.

2. මුස්ලිම් වන අසල් වාසීහු.

3. මුස්ලිම් නොවන අසල්වාසීහු.




මේ සියලු ආකාරයේ අය සමග ම අප සහයෝගයෙන් ජීවත් විය යුතු ය. ඔවුන්ගෙන් කිසිවෙකු නෙරපා දැමිය නොයුතු ය.

විනීතව හැසිරිය යුතු ය. මක් නිසා ද යත් තම අසල්වැසියන් සමග යහපත් ඇසුරක් පවත්වන අය අල්ලාහ් විසින් යහපත් අසල් වැසියන් වශයෙන් සලකනු ලබන බව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පවසා තිබෙනවා. (තිර්මිදි)

නිවැසියකු ගැන දැන ගැනීමට ඔහුගේ අසල් වැසියාගෙන් විමසීම පුරුද්දකි. මක් නිසා ද යත් කෙනෙකු ගැන හොඳාකාරව දන්නේ ඔහුගේ අසල්වැසියා ය. කෙනෙකු පිළිබඳව ඔහුගේ අසල්වැසියන් පවසන සාක්ෂිය පිළිගත හැකි ආකාරයේ එකකි. අසල්වැසියන් සමග යහපත් ඇසුරක් පවත්වා ගන්නා කෙනකු බොහෝ විට හොඳ කෙනෙකු වෙනවා.

වරක්, "අල්ලාහ් මත දිවුරා කියමි! ඔහු මුඃමින් නොවේ. අල්ලාහ් මත දිවුරා කියමි! ඔහු මුඃමින් නොවේ. අල්ලාහ් මත දිවුරා කියමි! ඔහු මුඃමින් නොවේ." යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ කීහ. එවිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගෙන් "ඔහු කවුදැයි" අසනු ලැබීය. එවිට "කවරකුගේ හිංසා පීඩාව ගැන අසල්වැසියන් බිය වනවා ද ඔහුය, ඒ පුද්ගලයා" කියා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා දිවුරා කීවේය. (බුහාරි, මුස්ලිම්)

අහළ පහළ ජීවත් වන අයට අසාධාරණයක් කිරීම බරපතල වරදක් ලෙස ඉස්ලාම් දහම සලකනවා. ඔවුන්ගේ අයිතිවාසිකම් හා යුතුකම් ගැන, බලවත් ලෙස ඉස්ලාමය අවධාරණය කරනවා. ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා නිතර නිතර අසල්වැසියන් පිළිබඳව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට අවවාද කළා. අසල්වැසියන් උරුමක්කාරයින් බවට පත් කරත් දෝයි කියා තමා සිතන තරමට අසල්වැසියන්ගේ අයිතිවාසිකම් ගැන ජිබ්රීල් අලයිහිස්සලාම් තුමා කී බව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පැවසුවා.

එනිසා අහළ පහළ සිටින්නන් සමග අප ඉතා විනීත ව ඇසුරු කරන්නට ඕනෑ. ඔවුනට සලාම් කිව යුතු ය. උදව් අවශ්‍ය වන අවස්ථා වල උදව් කළ යුතුයි. ණය ඉල්ලු අවස්ථාවක හැකි පමණින් ණය ලබා දී උදව් කළ යුතුයි. ඔවුනට යහපතක් සිදු වූ විට සුබ පැතිය යුතු යි. ඔවුන්ට දුකක් ඇති වූ විට සැනසිලි වදන් කිව යුතු යි. රෝගී වූ විට සුව දුක් විමසිය යුතු ය. අවමංගල්‍යයක දී ජනාසාවට යා යුතු ය. තෑගි බෝග හුවමාරු කර ගත යුතුයි.

සමගිය බලය වේ. බෙදී වෙන් වී සිටීම දුර්වලකම වන්නේ ය. එනිසා අසල්වැසියන් සමග සාමකාමී ව ජීවත් විය යුතු ය. ඔවුන් පිළිකුල් කරන දෑ නොකළ යුතු ය. ඔවුන් සමග ඕනෑවට එපාවට ඇසුරු නොකළ යුතු ය. ඒ අයගේ දුර්වලතාවයන් සෙවීම නොකළ යුතු ය. ඔවුන් පිළිබඳව ඕපාදූප කතා කිරීමත්, කේලම් කීමත් නොකළ යුතු ය. ඊර්ෂ්‍යා නොකළ යුතු ය. ඉඟි කර කතා කිරීමෙන් වැළකී සිටිය යුතු ය. අපහාස නොකළ යුතු ය. මෙවැනි ක්‍රියා නිසා අසල්වැසියන් අතර ඇති ඇසුර බිඳී යන්නේ ය.

දුප්පතුන්ටත්, ඥාතීන් වන අසල්වැසියන්ටත්, ඥාතීන් නොවන අසල්වැසියන්ටත් යහපත කරනා ලෙස අල් කුර්ආනය පවසයි. "අසල නිවසේ අය කුසගින්නෙන් පෙළෙන විට තමා පමණක් කුස පිරෙන්න ආහාර ගන්නා අය සැබෑ විශ්වාසවන්තයෝ නොවෙති" යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් අවධාරණය කර ඇත්තාහ.

අවට පරිසරයේ ගෙවල් බොහොමයක් ඇති අවස්ථාවක අපට කිට්ටු ම දොරකඩ ඇති නිවසට ප්‍රමුඛතාව ලබා දෙන්නට ඕනෑ. ඉන් පසු අනෙක් නිවැසියා ඊළඟ නිවැසියා යැයි කිව හැකි ය.

අපිද මෙසේ අසල්වැසියන්ට සලකමු. ඔවුන්ගේ දුකෙහි හා සැපෙහි සහභාගී වෙමු. ඔවුන් සමග ඇති වන ප්‍රශ්න සාමකාමී ව විසඳා ගනිමු. ඔවුනට හැකි අයුරින් උදව් උපකාර කරමු. ඔවුන්ගේ හොඳ හිත දිනා ගනිමු. ඒ අයුරින් ඉස්ලාමය පවසන යහපත් අසල්වැසියන් ව සිටිමු.

**අභ්‍යාස**

වරහන් තුළ දී ඇති වචනවලින් සුදුසු වචනය තෝරා හිස්තැන් පුරවන්න.

(කුසගින්නෙන්, උරුමක්කරුවන්, රෝගී වූ විට, උදව්වට, මුඃමින්වරයකු, ජිබ්රීල් (අලෛ) තුමා, අසල්වැසියන්, හිතවත්කම, තුනකට, අසාධාරණකම්)

1. නිවසක හතර පැත්තෙන් ම පදිංචි අය .............. ය.
2. අසල්වැසියන් වර්ග ................... වෙන් කරයි.
3. අසල් වැසියනට .................... කිරීම බරපතල වරදකි.
4. අසල්වැසියන් දේපළ වලට ...................... කරනු ඇතැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමා බිය වූහ.
5. අසල්වැසියන් ............ සුවදුක් විමසිය යුතුයි.
6. අසල්වැසියන් පහත් කොට කතා කළහොත් ............. පලුදු වන්නේ ය.
7. අසල්වැසියන් ...................... සිටිය දී තමා පමණක් කුස පුරවා ගන්නා හොඳ මුඃමින්වරයකු නොවේ.
8. අනතුරක දී පළමුව .................... ඉදිරිපත් වන්නේ අසල්වාසීන් ය.
9. අසල්වැසියන් ගැන .................. තුමා නබිතුමාට නිතර උපදෙස් දුන්හ.
10. අසල්වැසියාට හිංසා කරන්නා ................... නොවේ.

**කෙටි උත්තර දෙන්න**

1. අසල්වැසියන්ට කළ යුතු යුතුකම් පහක් සඳහන් කරන්න.
2. අසල්වැසියන් පිළිබඳ සඳහන් වන හදීස් දෙකක් ලියන්න.

# 28

# පරිසරය සුරකිමු

හය වන ශ්‍රේණියේ සිසුන් අධ්‍යාපන චාරිකාවක උඩරට ප්‍රදේශ වලට ගියා. එය සුන්දර හවස් යාමය කි. සියල්ලන් ම නුවරඑළියේ තිබූ උද්‍යානයකට ඇතුළු වුණා. උද්‍යානයේ සිරි නරඹා සතුටු වුණා. පසුව ඔවුන් ඉස්ලාම් විෂය භාර ගුරුතුමා වටා ඉඳ ගත්තා. එවිට ගුරුවරයා හා සිසුන් අතර මෙන්න මෙහෙම සාකච්ඡාවක් පැවතුණා.

**ගුරුතුමාඃ**

දරුවනි! අපි චාරිකාව සූදානම් කළ අවස්ථාවේ පරිසරය ගැන කතා කරනවා කියලා කිව්වා මතක ද? ඔබ මෙම චාරිකාවේ දී ප්‍රයෝජනවත් කරුණු රැසක් ම ඉගෙන ගත්තා. පරිසරයේ ඔබ නිරීක්ෂණය කළ ස්වාභාවික දර්ශන, එහි ප්‍රයෝජන, එය සුරැකීමේ වැදගත්කම ආදිය ගැන ඔබගේ අදහස් පිළිවෙළින් කියන්න.



**අෆ්ලල්:**

මම මේ පරිසරය ගැන සිතා බලනවා. කොපමණ ලස්සන දර්ශන ද? උස් කඳු, සිත පිනවන දිය ඇලි, තනිකර කොළ පාට ගස් කොළං, මිහිරි අන්දමින් නාද කරමින් සතුටු වන පක්ෂීහු, සිසිල් වූ මඳ සුළඟ, පෙළට ඇදෙන ගව රැළ, මනරම් ගොඩනැගිලි, මෙසේ බලන්නාවූ හැම තැනම සතුට ගෙන දෙන දර්ශන. මම මෙම ස්වාභාවික පරිසරයට බෙහෙවින් ම කැමතියි.

**ගුරුතුමා:**

හොඳ අදහස් ටිකක්. දරුවනි! මේවා අප වටා ඇති අපේ වටාපිටාවය. අල්ලාහ් අපට ලබා දුන් දායාදයන් වන මේවා මිනිසා මැවීමට කලින්ම මහපොළොවෙහි මවනු ලැබූ ඒවා ය. අල්ලාහ් පොළොව මවා එහි කූඤ්ඤයක් ලෙස කඳු සිටවූයේ ය. ඉන් පසුව පොළොව කැළඹීමකින් තොරව ස්ථාවර විණි. එය මිනිසාටත් අන් ජීවීන්ටත් ජීවත් වීමට සුදුසු ස්ථානයක් විය. හොඳයි ඔබගේ අදහස් කියන්න.

**අර්හම්:**

අප වටා පිහිටා ඇති පරිසරය අපගේ ජීවිතය සශ්‍රීක කරයි. අපගේ අවශ්‍යතා ඉටු කර ගැනීමට උදවු උපකාර වෙයි. " මහ පොළව මත ඇති සියල්ල මවනු ලැබුවේ ඔබ වෙනුවෙන් " යැයි අල් කුර්ආනයේ සඳහන් වන්නේ ය. ඒවා සුරැකීම අපගේ යුතුකම වන්නේ ය.

**නසීම්:**

මට කනගාටුයි. පරිසරය පිළිබඳ අවශ්‍ය තරම් අවබෝධයක් නොමැති නිසා කැලෑ විනාශය, රසායනික අපද්‍රව්‍ය හා අධික දුම නිසා ස්වාභාවික සම්පත් විනාශ වීම ආදිය සිදුවන්නේ ය. මෙනිසා ලොව ආහාර හිඟය, පානීය ජල හිඟය ආදිය උග්‍ර වෙනවා යන මෙම ප්‍රවෘත්තිය මම පුවත් පතකින් කියවූයෙමි.

**රුෂෛයිද්:**

මුස්ලිම්වරයකු තම පරිසරය දූෂණය නොකළ යුතු ය. ඊමානයේ ඇති පහත් ම තත්ත්වය පාරේ ඇති බාධක ඉවත් කිරීම කියා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පවසා තිබේ. අනවශ්‍ය ලෙස ගස් කැපීම ඉස්ලාම් දහමේ තහනම් කර ඇත. "වගා කර කුසල් ලබා ගන්න. ගස් සිටුවා පරිසරය අලංකාරවත් කරන්න" කියා ඉස්ලාම් දහම අප උනන්දු කරයි. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සල්මානුල් ෆාරිසී රළියල්ලාහු අන්හු තුමා යන

මිත්‍රයාගේ වහල් බැවින් නිදහස වෙනුවෙන් සහාබාවරුන් මාර්ගයෙන් ඔහුගේ ස්වාමියාගේ වත්තෙහි රටඉඳි ගස් 300ක් සිටු වූ සිද්ධිය කියවා ඇත්තෙමු.

**ගුරුතුමා:**

දරුවනි! ඔබ ඉදිරිපත් කළ කරුණු සියල්ල සැබෑ ය. මෙය අල්ලාහ් මැවූ ලෝක යයි. මෙම ලෝකයේ ඇති සියල්ල අයිති අල්ලාහ්ට ය. ඒවා පොළොවේ අලංකාරය සඳහා ද, ආරක්ෂාව සඳහා ද, මිනිසාගේ ජීවනෝපාය සඳහා ද මවා ඇත. මෙම භෞතික පරිසරය සුරැකීම අපගේ වගකීම හා යුතුකම වන්නේ ය. මේ ගැන ඔබගේ අදහස කුමක් ද?

**ෂරෆත්:**

මිනිසා විසින් දූෂණය කරනු ලබන වායුගෝලය ශාක මගින් පිරිසිදු කරනු ලබන්නේ ය. ජලාශ, ක්‍රීඩා පිටි, පළතුරු ගස් ඇති ස්ථාන ආදියෙහි මලපහ කර ඒවා අපිරිසිදු නොකළ යුතු ය. වට පිටාව ආරක්ෂා කිරීමෙන් අපගේ මනස යහපත් වන්නේ ය. සෞඛ්‍යය සුරැකෙන්නේ ය. ජීවිතය සශ්‍රීක වන්නේ ය.

**ශිමාක්:**

පස සශ්‍රීක කිරීමට සහ ශාක නිෂ්පාදනයට ගැඩවිල්ලු සහ කෘමීහු සහාය වෙති. එනිසා සම්පූර්ණ පරිසරය ම සුරැකීම බුද්ධිමත් මිනිසාගේ යුතුකම වන්නේ ය. "ඔබට ලබා දුන් දායාද ගැන අනිවාර්යයෙන් ම ඔබ ප්‍රශ්න කරනු ලබන්නේය." (102:8) යැයි අල් කුර්ආනය අවධාරණය කරයි. මේලොව පිළිකුල් කරන ලෙස ඉස්ලාම් දහම උපදෙස් දෙන්නේ නැත. කියාමා ජීවිතය අමතක නොකර ස්වාභාවික සම්පත් භාවිතා කළ යුතු ය. ඒවා සුරැකිය යුතුයි. අනාගත පරම්පරාවක් සඳහා සශ්‍රීක පොළොවක් ඉතිරි කර යා යුතු ය. මෙය අප සැමගේ යුතුකම වන්නේ ය.

**ගුරුතුමා:**

දරුවනි! ඔබ වැදගත් කරුණු රැසක් කීවා. ඔබ වඩාත් හොඳ නිරීක්ෂණ ශක්තිය ක් ඇති අයයි. ඔබ වටිනා තොරතුරු රැසක් රැස්කර තිබෙනවා. පරිසරයේ ඇති සම්පත් සියල්ල අල්ලාහ්ගේ දායාදයන් ය. ඒවා ජීවීන්ගේ පැවැත්මට අත්‍යවශ්‍ය ඒවා ය. ඒවා දූෂණය නොකර ආරක්ෂා කිරීමත් ප්‍රයෝජනවත් ලෙස භාවිතා කිරීමත් වැදගත් ය. එම නිසා අපි පරිසරය සුරකිමින් ජීවත් වෙමු.

**අභ්‍යාස**

කෙටි පිළිතුරු සපයන්න

1. පරිසරය යනු කුමක් ද?
2. පරිසරයේ දක්නට ලැබෙන ස්වාභාවික සම්පත් තුනක් ලියන්න.
3. කඳු මවනු ලැබුවේ ඇයි?
4. පරිසරය දූෂණය කරන සාධක දෙකක් දෙන්න.
5. වටාපිටාව සුරැකීම නිසා ලැබෙන කුසලයන් දෙකක් සඳහන් කරන්න.
6. ස්වාභාවික සම්පත් කාගේ දායාදයන් ද ?
7. පාඩමේ සඳහන් වන අල් කුර්ආන් වාක්‍යය සඳහන් කරන්න.
8. පරිසරය සුරැකීම සඳහා අප අනුගමනය කළ යුතු ක්‍රියා මාර්ග මොනවා දැයි කෙටියෙන් පැහැදිලි කරන්න.

# 29

# සතුන්ට කරුණාව දක්වමු

"එකමත් එක කාලයක මිනිසෙක් පාරේ ගමන් කරමින් සිටියේ ය. ඔහුට දැඩි පිපාසයක් ඇති විය. දිව වියලෙන්නට විය. ඔහු බීමට ජලය සොයන්නට වූයේ ය. එවිට ඔහු ඒ අසල වූ ළිඳක් දුටුවේ ය. ළිඳෙන් වතුර ගැනීමට භාජනයක් නොතිබූ නිසා ළිඳට බැස ජලය පානය කර තම පිපාසය සංසිඳුවා ගත්තේ ය. ළිඳෙන් පිට වූ ඔහු පිපාසයෙන් පෙළෙන බල්ලකු දුටුවේ ය. දැඩි පිපාසය නිසා බල්ලා තෙත් වූ පස ලෙවකමින් සිටියේ ය. "පව් මේ බල්ලා පිපාසයෙන් පීඩා විඳිනවා. මට පිපාසය ඇති වූ විට දිව වියළි ගියාක් මෙන් මෙම බල්ලාගේත් දිව ද වියළි යන්නට ඇති" යැයි තමාට ම කියා ගත් ඒ මිනිසා ළිඳට බැස තම පාවහන්වල වතුර පුරවාගෙන ළිඳෙන් පිට වී වතුර පොවා බල්ලාගේ පිපාසය සංසිඳ වූයේ ය. අල්ලාහ් එම මිනිසාට ස්තුති කර ඔහුගේ  සියලු පව්වලට සමාව දුන්නේ ය. "

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ මෙම කතාවට සවන් දෙමින් සිටි සහාබාවරු පුදුමයට පත් ව " සතුන්ට උදව් කිරීමෙනුත් කුසල් ලැබෙනවා ද?" කියා ඇසූහ. එයට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් "නියත වශයෙන් ම පණ ඇති සෑම සතෙකු සම්බන්ධයෙන් කරන යහක්‍රියාවන්ට යහඵල ඇත්තේ ය" යැයි කීහ.

මිනිසුන් මැවූ අල්ලාහ් අන් සියලු ජීවීන්ට වඩා ඔහු උසස් කළේ ය. අල්ලාහ් මිනිසුන්ට තම අවශ්‍යතා ඉටු කර ගැනීම සඳහා සතුන් මෙල්ල කර දී ඇත්තේ ය. ආහාරය සඳහා සතුන්ගේ මාංශද, පානය සඳහා සතුන්ගේ කිරි ද ලබා දුන්නේ ය. තව ද රෙදි විවීම සඳහා නූල්, පාවහන් මලු ආදිය සකස් කර ගැනීම සඳහා සම වැනි විවිධ ප්‍රයෝජන ද සතුන්ගෙන් ලැබෙන්නේ ය. තවද තවත් සමහර ජීවීන් සෞන්දර්යය සඳහාත් ආරක්ෂාව සඳහාත් ප්‍රයෝජනයට ගන්නා අතර, දඩයම් කිරීම, සීසෑම, ගමනා ගමනය, බර පටවා ගෙන යෑම වැනි සමහරක් වැඩ කටයුතු කර ගැනීම සඳහාත් සතුන් යොදා ගනු ලබති. මේ

සියල්ල අල්ලාහ් මිනිසාට ලබා දුන් දායාදයන් බව පවසන අල් කුර්ආනය තවදුරටත් මෙසේ විස්තර කරයි. "ජීවීන් සියල්ල අල්ලාහ්ගේ මැවුම් වන නිසා අල්ලාහ්ගේ නියෝජිතයා වන මිනිසා උන් සමග හොඳාකාරව කටයුතු කළ යුතුයි. අල් කුර්ආනය සහ හදීස් මගින් මෙය අපට අවධාරණය කෙරෙන්නේ ය.

"පොළෝ තලය මත බඩ ගා යන හා තම පියාපත්වලින් අහසේ පියාසර කරන සියල්ල ඔබ මෙන්ම පණ ඇති මැවීම් හැර වෙනත් යමක් නො වේ" (6:38)

එනිසා ජීවීන් සමග හොඳින් හැසිරීමත් උන්ට කරුණාවෙන් සැලකීමත් අල්ලාහ්ගේ යහගැත්තන් වන මුස්ලිම්වරුන්ගේ යුතුකම වන්නේ ය. ඒ අනුව ජීවීන් සමග මුස්ලිම්වරුන් හැසිරිය යුතු ආකාරය ඉස්ලාමය උගන්වන්නේ මෙසේ ය,

### 01. කරුණාව දැක්වීම

තම අවශ්‍යතාවයන් ඉටු කරවා ගැනීම සඳහා සතුන් යොදා ගන්නා අය උන් කෙරෙහි කරුණාව දැක්විය යුතු ය. උන්ට අවශ්‍ය ආහාර ජලය සහ සුදුසු නවාතැන් යනාදිය ලබා දිය යුතු ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තම අශ්වයාගේ මුහුණ තම සළුවෙන් පිස දමන්නාහ. එතුමා සාපේක්ෂව කටයුතු කළ සහාබාවරු ද සතුන්ට කරුණාවෙන් සැලකුහ.

වරක් අබූදර්දා රළියල්ලාහු අන්හු තුමා යන සහාබිවරයා පිපාසයෙන් ජලය සොයන බළලෙකු දැක දිය බඳුන ඇලකර ජලය බිමට හලා බළලාට වතුර බීමට මග සැළසීය. "සතුන්ට හිංසා පීඩා නොකර උන්ට කරුණාව දැක්විය යුතු ය." යන්නට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා කී තවත් කතාවක් මෙසේ ය.



"එක්තරා කාලයක කාන්තාවක් තමා ඇති කරන බළලා බැඳ තැබුවා ය. ඇය ඌට කෑම හෝ බීම නොදුන් අතර පොළොවේ ඇති පණුවන් හෝ කෘමීන් හෝ කන්නට ද ඉඩ නුදුන්නා ය. මෙනිසා ඇයට නිරයට යෑමට සිදු වූ බව" නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (බුහාරි, මුස්ලිම්)

සතුන්ට හා අන් ජීවීන්ට ආහාර සැපයීම "සදකා" (දන්දීමක්) බව නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම් තුමාණෝ පැවසූහ. මුස්ලිම්වරයෙකු වගා කළ විට හෝ ගොවිතැන් කළ විට එයින් තවත් මිනිසකු, සතකු, පක්ෂියකු හෝ යමක් කෑවේ නම් එය එම ගොවියාට කුසලයකි." (මුස්ලිම්)

### 02. පමණට වඩා බර නොපැටවීම

දිනක් නබි (සල්) තුමාණෝ අන්සාරි සහාබිවරයෙකුට අයත් වත්තකට ගියහ. එහි ඔටුවෙකු සිටිනු එතුමා දුටුවේය. නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම් තුමා දුටු එම ඔටුවා ශබ්ද කරන්නට විය. උගේ දෑසින් කඳුළු ගලන්නට විය. එය දුටු නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම් තුමාණෝ ඔටුවා අසල ගොස් උගේ කන පිටු පස පිරිමදින්නට වූහ. වහාම ඌ සන්සුන් විය. "මූගේ අයිතිකරු කවුදැ?" යි එතුමා ඇසූවේය. එතැනට පැමිණි අන්සාරි තරුණයෙක් උගේ අයිතිකරු තමා වන බව පැවසී ය. එම තරුණයා දෙස බලා නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම් තුමාණෝ "ඔබට අල්ලාහ් ලබා දුන් මෙම සත්ත්වයා සම්බන්ධයෙන් ඔබ අල්ලාහ්ට බිය නොවන්නෙහි ද? ඔබ ඌ කුසගින්නෙහි පෙළෙන්නට හැර හිංසා කරන බවත් අධික ලෙස වැඩ පවරා වෙහෙසට පත් කරන බවත් ඌ මා වෙත පැමිණිලි කළා" කියා දොස් කීහ. (අබූදාවූද්)

"අල්ලාහ් කාරුණිකය. ඔහු කැමති වන්නේ කාරුණික ව සිටින්නන්ට ය. ඔහු තෘප්තිමත් වනුයේ ඒ පිළිබඳවය. පීඩා කරන්නන්ට උදව් නොකරන අල්ලාහ් කැමති වන්නේ කාරුණිකව සිටින්නන්ට ය. කතා කළ නොහැකි මෙම සතුන් මත ඔබ ගමන් කරන්නේ නම් විටින්විට ඔවුන්ට විවේකය දෙන්න" යි නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (මාලික්)



### 3. හිංසා පීඩා නොකළ යුතුය.

ඉස්ලාම් දහම ආදරයට හා කරුණාවට මුල් තැන දෙයි. ඒනිසා කිසිදු ජීවියෙකුට හිංසා පීඩා නොකළ යුතු ය. විශේෂයෙන් ගින්නෙන් පිළිස්සීම නොකළ යුතු ය.

වරක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සහබාවරුන් විසින් පුළුස්සන ලද කුහුඹු ගුලක් දුටුවේය. "මෙය කළේ කවුදැ"යි එතුමා ඇසුවේය. එවිට සහබාවරු තමන් එය කළ බව කීහ. එවිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ "ගින්න මැවූ අල්ලාහ් හැර අන් කිසිවකුට ගින්නෙන් කිසිඳු ජීවිතයක් පුළුස්සා වේදනා කළ නොහැකි ය. "යි අවවාද කළහ. (අබූදාවූද්)

එවැනි තවත් සිද්ධියක් මෙසේ ය.

වරක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මුහුණ ගින්නෙන් පුළුස්සා තිබූ බූරුවෙකු දුටුවේය. ඒ ගැන කෝපයට පත් වූ එතුමා "මෙම බූරුවාට හං වඩු සළකුණ යෙදු තැනැත්තාට අල්ලාහ් සාප කරත්වා" යැයි දොස් පැවරූහ. (මුස්ලිම්)

"වරක් ආයිෂා රළියල්ලාහු අන්හා තුමිය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් සමග බූරුවකු පිට නැග ගමනක් ගියා ය. එතුමිය බූරුවාට සරදම් කර බිය ගැන් වූ අවස්ථාවේ දී ඌට ආදරයෙන් සලකන්න" කියා එතුමා කීවේය. (මුස්ලිම්)

### 04. ජීවීන්ගේ අවයවලට හානි නොකළ යුතු ය

සාමාන්‍යයෙන් කුඩා ළමුන් බත්කූරන්, කටුස්සන් වැනි ජීවින්ට හිංසා පීඩා කරන අවස්ථා ඇත. කුරුල්ලන් ඇති කරන අය උන් පියාඹා යෑම වැළැක්වීම සඳහා උන්ගේ පිහාටු කපා දමන අවස්ථා ද ඇත. මේවා ඒ ජීවින්ට හිංසා පීඩා ඇති කරන්නාක් මෙන් ම උන්ගේ ජීවිතයට තර්ජනයක් වන ආකාරයේ එකක් ද වන්නේ ය. අපි මෙවැනි අවස්ථා මග හැර සතුන්ට කාරුණිකව සැලකිය යුතු ය.

"සතුන් පණ පිටින් සිටිය දී උන්ගේ අවයවවලට හානි පමුණුවන්නේ කවුරුන් ද ඔවුන්ට අල්ලාහ්, මලක්වරු හා මිනිසුන් සාප කරති" (තබරානි)

### 05. පැටවුන්ගෙන් මව වෙන් නොකළ යුතු ය

සතුන්ගේ නැතහොත් කුරුල්ලන්ගේ පැටවුන් ඔවුන්ගේ මව් සතාගෙන් වෙන් නොකළ යුතු ය. එසේම ඔවුන්ගේ කූඩු කඩා නොදැමිය යුතුය.

වරක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ සහබාවරුන් සමග ගමනක් ගියහ. එවිට සහබාවරු කිරිල්ලියක දුටුහ. එම කිරිල්ලිය සමග පැටවුන් දෙදෙනෙක් ද සිටියහ. සහබාවරු එයින් පැටවෙකු අල්ලා ගත්හ. එවිට මව් කිරිල්ලිය සහබාවරුන් වෙත පැමිණ ඉගිල්ලෙමින් සිටියා ය. කිරිල්ලියගේ

තත්ත්වය වටහා ගත් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ "මෙම කිරිල්ලියගෙන් පැටවුන් වෙන් කළේ කවුද? ඇගේ පැටවුන් ඇ වෙතට ම ලබා දෙන්න" යි සහබාවරුන්ට කීහ.( අබූදාවූද්)

## 06. රෝගී වූ විට ප්‍රතිකාර කිරීම

තම භාරයේ සිටින ජීවියා රෝගි වූ විට අවශ්‍ය වෛද්‍ය ප්‍රතිකාර ලබා දී ඔවුන් සුවපත් කළ යුතු ය. "සෑම එඩේරෙකු ම තමන් සතුන් පාලනය කළ ආකාරය පිළිබඳව කියාමා දිනයේ දී ප්‍රශ්න කරනු ලබන්නේ ය" යන හදීසයට අදාළ වන පරිදි සෑම මූඃමින් වරයෙකු ම ක්‍රියා කළ යුතු ය. දරුවනි! අපි සතුන් කෙරෙහි කරුණාව දක්වන විට අල්ලාහ් ද අප කෙරෙහි කරුණාව දක්වනවා ඇත. එබැවින් සර්ව බලධාරී අල්ලාහ් අප වෙනුවෙන් මවා අපට මෙල්ල කර දුන් ජීවීන් නොසැලකිළිමත් නොවී උන් ද අල්ලාහ්ගේ මැවීම් බව සලකා ඉහත කරුණු සැලකිල්ලට ගෙන ක්‍රියා කිරීමට උනන්දු වෙමු.



**ක්‍රියාකාරකම**

හරි නම් √ ලකුණ ද වැරදි නම් X ලකුණ ද වරහන් තුළ යොදන්න

1. ඉස්ලාමය කතා කරන්නේ මිනිසා ගැන පමණි ( )
2. මිනිසා කැමති ආකාරයට සතුන්ට සැලකිය හැකි ය ( )
3. නිවසේ කරදරයක් වන බළල් මවගෙන් පැටවුන් වෙන්කර ඈතට ගෙන ගොස් දැමීම ඉස්ලාම් දහම අනුමත නො කරයි ( )
4. ජීවීන්ට ආදරය කරුණාව දැක්වීම පිළිබඳව අල්ලාහ් සතුටු වන්නේය ( )
5. ජීවීන් ගින්නෙන් පිළිස්සීම පාපී ක්‍රියාවකි ( )